# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

කෘතිය: සමාජවාදය හා යුද්ධය
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/-
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2012-01-20
ඩිජිටල් සංස්කරණයන්: V1:2012-01-20, V2:2019-05-30
පිටු ගණන: 72
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com


සියළු රටවල නිර්ධනයිනි, එක්වව්

## වී.අයි.ලෙනින්

# සමාජවාදය හා යුද්ධය

(රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය යුද්ධය කෙරෙහි දක්වන ආකල්පය[1])

# පටුන



## I වැනි පරිච්ඡේදය

### සමාජවාදයේ මූලධර්ම හා 1914-1915 යුද්ධය

## II වැනි පරිච්ඡේදය

### රුසියාවේ පංති හා දේශපාලන පක්ෂ



## III වැනි පරිච්ඡේදය

### අන්තර්ජාතිකය යළි නගා සිටුවීම



## IV වැනි පරිච්ඡේදය

### රකැඩීයාමේ ඉතිහාසය සහ රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වත්මන් තත්ත්වය

සූචිකරණ දත්ත

කෘතිය: සමාජවාදය හා යුද්ධය
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/-
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2012-01-20
ඩිජිටල් සංස්කරණයන්: V1:2012-01-20, V2:2019-05-30
පිටු ගණන: 72
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com


## පළමුවැනි විදේශීය මුද්‍රණයේ පෙරවදන

වසරක් තිස්සේ යුද්ධය කෙරීගෙන යයි. යුද්ධය ආරම්භයේදීම අප පක්ෂය එය පිළිබඳව දරණ ආකල්පය 1914 සැප්තැම්බර්හිදී මධ්‍යම කාරක සභාව විසින් සකස් කරනලද ප්‍රකාශනයෙහි සඳහන්වූ අතර, එම වර්ෂයේම නොවැම්බර් 1 ද පක්ෂයේ මධ්‍යම පුවත්පත වන ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා'' පත්‍රයේ අංක 33 දරණ කලාපයේ (මධ්‍යම කාරක සභිකයින්ටත්, රුසියාවේ සිටින වගකිවයුතු පාක්ෂිකයින්ටත් යවා ඔවුන්ගේ අනුමැතිය ලබාගත් පසු) එය ප්‍රසිද්ධ කරන ලදි. පසුව අංක 40 දරණ 1915 මාර්තු 29 ද කලාපයේ ප්‍රසිද්ධ කරනලද බර්න් සාකච්ඡාවේ[2] යෝජනාවල අප අනුගමනය කරන මූලධර්ම හා උපායයන් වඩා පැහැදිලිව දක්වා තිබුණි.

රුසියාවේ පොදුජනයා තුල විප්ලවකාරී හැඟීම් වත්මන් අවධියේදී උත්සන්නවී තිබෙන බව පැහැදිලිව පෙනීයයි. තම ආණ්ඩුවලට හා ධනපතීන්ට පක්ෂපාතවුණු නිළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවලින් වැඩිකොටසක් නිර්ධන පංතියේ විප්ලවවාදී අපේක්ෂාවන් පාගාදැමීමට ඉදිරිපත්වුණද, අනිකුත් රටවලද මෙම අවදිවීමේ ලක්ෂණයන් හැමතැනම පෙනෙන්නට තිබේ. මේ තත්ත්වය නිසා යුද්ධය කෙරෙහි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දක්වන ප්‍රතිපත්තිය පැහැදිලි කරන පොත් පිංචක් පළකිරීම වහාම අවශ්‍යවන්නේය. ඉහත සටහන්කළ පක්ෂයේ ලියකියවිලි සම්පූර්ණයෙන් නැවත මුද්‍රණය කිරීමේදී පක්ෂ රැස්වීම් හා අදළ කෘතීන්වල ප්‍රකාශිතවූ ධනපති හා නිර්ධන උපක්‍රමයන්ගේ යෝග්‍ය අයෝග්‍යභාවය දක්වන ප්‍රධාන තර්ක නියම වශයෙන් සලකාබැලීමට ආධාරවන පරිදි කෙටි විවිරණයක්ද අප ඇතුලත් කළෙමු.

## දෙවැනි මුද්‍රණයේ පෙරවදන

මේ පොත් පිංච 1915 ගිම්හානයේදී සිමර්වෝල්ඩ්හි සාකච්ඡාවට පෙර ලියනලද්දකි. ජර්මන් හා ප්‍රංශ භාෂාවලින්ද, නෝර්වීජියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී තරුණ සහරාවේ නෝර්වේ බසින්ද, මේ පොත් පිංච මුද්‍රණය කොට තිබේ. ජර්මානු මුද්‍රණය ජර්මනියට ගෙනයනලද්දේ නීතිවිරෝධී ලෙසිනි. සිමර්වෝල්ඩ්හි වාමාංශිකයින්[3] හා කාර්ල් ලිබ්ක්නෙක්ට්ගේ කණ්ඩායම විසින් බර්ලින්, ලයිප්සිග්, බ්‍රීමන් හා අනිකුත් නගරවල නීතිවිරෝධී තත්ත්වයන් යටතේ එය බෙදාහරිනලදී. ප්‍රංශ මුද්‍රණය නීතිවිරෝධීලෙස පැරිසියේ මුද්‍රණය කොට ප්‍රංශ සිමර්වෝල්ඩ්වරුන් විසින් බෙදාහරිනලදී. රුසියාව තුළට ගෙනයා හැකිවූයේ රුසියන් මුද්‍රණයේ සීමාසහිත පිටපත් ගණනක් වූ අතර එය මොස්කව්හි කම්කරුවන් විසින් අතින් ලියනු ලැබ බෙදාහරිනලදී.

ලියවිල්ලක් වශයෙන් අපි ඒ පොත් පිංච සම්පූර්ණයෙන්ම මුද්‍රණය කරමු. මෙය ලියාතිබෙනුයේ 1915 අගෝස්තු මාසයේ දී බව පාඨකයා නිතරම සිහි තබාගත යුතුය. රුසියාව ගැන කියවෙන තැන්වලදී එය විශෙෂයෙන් සැලකිය යුතුය. එදා රුසියාව සාර් රුසියාව විය. රොමානව් රුසියාව විය...

1918 දී මුද්‍රණය කරනලද
පොත් පිංචෙහි පළකරනු ලැබිණ.

---

## 1 වැනි පරිච්ඡේදය

### සමාජවාදයේ මූලධර්ම හා 1914-1915 යුද්ධය

### යුද්ධ කෙරෙහි සමාජවාදීන් දක්වන ආකල්පය

ජාතීන් අතර ඇතිවන යුද්ධ තිරිසන් ම්ලේච්ඡ ක්‍රියාවන් ලෙස සමාජවාදීහු කවදත් හෙළාදක්කාහ. අප දක්වන ආකල්පය ධනපති ශාන්තිවාදීන් (සමාදානකාමීන් හා සමාදානය දේශනාකරන්නන්) හා ඇනාකිස්ට්වාදීන්(අරාජිකවාදීන්) දක්වන ආකල්පයට වඩා මූලික වශයෙන් වෙනස්වෙයි. පළමු සඳහන් කළ අය හා අප අතර ඇති වෙනස නම්, රටක අභ්‍යන්තර පංති සටන හා යුද්ධ අතර අනිවාර්ය වශයෙන් පවතින



සම්බන්ධය ගැන අවබෝධයක් අපට තිබීමයි; පංති විනාශ නොකර සමාජවාද පිහිටුවන්නේ නැතිව යුද්ධ නැතිකළ නොහැකි බව අපට අවබෝධවී තිබීමයි; තවද අප ඔවුන්ගෙන් වෙනස්වන්නේ සිවිල් යුද්ධ එනම් පැගෙන පංතියක් විසින් පාගන පංතියට එදිරිව අරඹනු ලබන යුද්ධ වහලුන් විසින් වහල් හිමියනට විරුද්ධවද ප්‍රවේණිදාසයන් විසින් රදල ඉඩම් හිමියන්ට විරුද්ධවද වැටුප් ලබන කම්කරුවන් විසින් ධනපති පංතියට විරුද්ධවද කරනු ලබන යුද්ධ සම්පූර්ණයෙන්ම යුක්ති සහගත බවත්, ඒවා ප්‍රගතිශීලි බවත්, අවශ්‍ය බවත් සලකන බැවිනි. සෑම යුද්ධයක්ම ඓතිහාසික වශයෙන් හා වෙන් වෙන්ව (මාක්ස්ගේ ද්වන්දාත්මක භෞතිකවාදය අනුව) පිරික්සා බැලීමේ අත්‍යාවශ්‍යතාවය මාක්ස්වාදීන් ලෙස අප පිළිගන්නා බැවින් ශාන්තිවාදීන්ගෙන් හා අරාජිකවාදීන්ගෙන් අපි වෙනස්වමු. අතීතයේ සිදුවූ යුද්ධ අනිවාර්යයෙන්ම ඉතා භයානක, තිරිසන්, කෲර හා දුක්මුසු වුවද ඒවායින් බොහොමයක් ප්‍රගතිශීලී වූහ. ඒ යුද්ධ මිනිස් සංහතියේ සංවර්ධනයට හේතුවී තිබේ. අතිශය දුෂ්ට හා ප්‍රතිගාමී ආයතනයන් (නිදසුනක් වශයෙන් අත්තනෝමතික රාජ්‍ය හා ප්‍රවේණිදාස ක්‍රමය) සහ යුරෝපයේ අතිශය ම්ලේච්ඡ දුෂ්ට පාලනක්‍රමයන් (තුර්කි හා රුසියානු) විනාශකර දැමීමට එම යුද්ධ ආධාර විය. එබැවින් දනට සිදුවේගන යන යුද්ධයේ ඓතිහාසික වශයෙන් විශෙෂවූ අංගයන් ගැන පිරික්සා බැලීම වටී.

### නවකාලීන යුද්ධවල ඓතිහාසික වශයෙන් පවතින වර්ග

ශ්‍රේෂ්ඨ ප්‍රංශ විප්ලවය මිනිස් ඉතිහාසයේ නව යුගයක් උදා කළේය. එතැන් සිට පැරිස් කොමියූනය දක්වා, එනම් 1789 සිට 1871 දක්වා කාලය තුලදී ඇතිවූ එක් වර්ගයක යුද්ධ ධනපති–ප්‍රගතිශීලි හා ජාතික විමුක්ති ස්වරූපයක් දරුවේය. වෙනත් වචන වලින් කියන්නේ නම්, එම යුද්ධවල ප්‍රධාන හරයවූයේත්, ඓතිහාසික වැදගත්කම වූයේත්, අත්තනෝමතික හා රදළ පාලනය පෙරළාදැමීමත්, එම ආයතනයන්ගේ පදනම් සිඳදැමීමත්, විජාතික පීඩනයන් පරාජය කිරීමත්ය. එබැවින් ඒ යුද්ධ ප්‍රගතිශීලිවිය. සියළුම අවංක විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් එමෙන්ම සෑම සමාජවාදියෙක්ම එවැනි යුද්ධවලදී රදලවාදයේ, අත්තනෝමතික රාජ්‍ය පාලනයේ හා විදේශීය රටවල ජනතාව පීඩාකිරීමේ බියජනක පදනම් විනාශකිරීම සඳහා හෝ පෙරළාදැමීම සඳහා හෝ සටන්කළ රටට (එනම් ඒ ධනපති පංතියට) නිදසුනක් ප්‍රංශය මෙහෙයැවූ විප්ලවවාදී යුඩවලදී එක්තරා ප්‍රමාණයක කොල්ලකෑම් හා විදේශීය බිම් අල්ලාගැනීම් සිදුවිය. එහෙත් පැරණි රදල

වාදී හා ප්‍රවේණිදාස ක්‍රමය පැවති යුරෝපයේ අත්තනෝමතික වාදය හා රදලක්‍රමය සිඳබිඳදැමූ එම යුද්ධවල මූලික ඓතිහාසික වැදගත්කම කිසිසේත් වෙනස් නොවේ. ප්‍රංශ–පෘසියානු යුද්ධයේදී ජර්මනිය ප්‍රංශය කොල්ල කෑවේය. එහෙත් රුසියානු සාර් සහ තුන්වැනි නැපෝලියන් වැනි කෲර පාලකයන් දෙදෙනෙකුගේ පීඩනයෙන්ද, රදලවාදී බෙදීම්වලින්ද, කෝටි සංඛ්‍යාත ජර්මන් ජනතාව මුදවාගත් ඒ යුද්ධයේ මූලික ඓතිහාසික වැදගත්කම එයින් වෙනස් නොවන්නේය.

## ආක්‍රමණික හා ආරක්‍ෂක යුද්ධ අතර වෙනස

1789—1871 අවුරුදුවලට අයත් යුගය ගෙවීගියේ විප්ලවවාදී සිහිවටනයන් හා ගැඹුරු පා සටහන් තබමිනි. රදළවාදය, අත්තනෝමතිකවාදය හා විජාතික පීඩනයන් පෙරළා දැමීමට පෙර සමාජවාදය සඳහා නිර්ධන පංතිය ගෙනයන්නාවූ සටනේ වර්ධනය සිදුවිය නොහැක. සමාජවාදීන් එවැනි කාලපරිච්ඡේදවල ඇතිවූ යුද්ධ ගැන සඳහන් කිරීමේදී "ආරක්ෂක" යුද්ධවල යුක්ති සහගතබව අවධාරණයෙන් පැවසුවේ මධ්‍යකාලීනත්වය හා ප්‍රවේණිදාස වහල්භාවයට විරුද්ධව විප්ලව සිය පරමාර්ථය වශයෙන් සළකාගෙනය. "ආරක්ෂක" යුද්ධයක් "සාධාරණයැ"යි සමාජවාදීන් අදහස් කළේ මේ අර්ථයෙනි. (එක් වරෙක ලිබ්ක්නෙක්ට් සිය අදහස් දැක්වූයේ එහෙමය)[4]. සමාජවාදීන් "ආරක්ෂක" හෝ "පිතෘභූමිය ආරක්ෂා" කිරීමේ යුද්ධවල හෝ යුක්ති සහගත බව, ප්‍රගතිශීලිබව හා සාධාරණ බව පිළිගත්තේ එම අර්ථයෙන් පමණකි. නිදසුනක් වශයෙන් හෙට මොරොක්කෝව ප්‍රංශයට එදිරිවද ඉන්දියාව එංගලන්තයට එදිරිවද පර්සියාව හෝ චීනය රුසියාවට එදිරිවද යුද්ධාරම්භ කරන්නේයැයි සිතමු. මෙහිදී පළමු ප්‍රහාරය කවුරුන් විසින් එල්ලකරන ලද්දේද යන ප්‍රශ්නය කෙසේවුවත් එම යුද්ධ ආරක්ෂ හා සාධාරණ වනු ඇත. ඕනෑම සමාජවාදියෙක් එවැනි අවස්ථාවලදී පීඩාකාරී වහල්හිමි, මංකොල්ලකාරී "මහා" බලවතුනට විරුද්ධව පීඩාවිඳින පරාධීන අසමාන රාජ්‍යවලට ජය පතනු ඇත.

නමුත් වහලුන් සියයක් ඇති වහල් හිමියෙක් වහලුන් දෙසියයක් සතු තව'කෙක් සමග "සාධාරණ" ලෙස වහලුන් බෙදාගැනීම පිණිස යුද අරගලයක් කරන්නේයැයි සිතමු. එවැනි යුද්ධ "ආරක්ෂක" හෝ "පිතෘභූමිය ආරක්ෂා" කිරීමේ යුද්ධ යනුවෙන් හැඳින්වීම ඓතිහාසික වශයෙන් අසත්‍ය බව පැහැදිලිව පෙනේ. ඇත්ත වශයෙන් එය පොදු



ජනයාත් පිලිස්ටීන්වරුන් (අප්‍රබුධයන්), නූගතුනුන් කපටි වහල් හිමියන් විසින් රවටනු ලැබීමකි. අදත් වහල්බව උත්සන්න කිරීම හා ශක්තිමත් කිරීම සඳහා වහල් හිමියන් අතර ඇතිවී තිබෙන යුද්ධයේදී වත්මන් අධිරාජ්‍යවාදීහු "ජාතික" දෘෂ්ටිය තුලින් පිතෘභූමිය ආර්ක්ෂා කිරීම යන පාඨය මගින් ඒ ආකාරයටම ජනතාව මුලාකරති.

## වත්මන් යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයකි

වත්මන් යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයකැයි හැමදෙනාම පාහේ පිළිගෙන තිබේ. එහෙත් බොහෝවිට මෙහි අර්ථය විකෘතකොට දක්වති, නැතහොත් එම හැඳින්වීම එක් අංශයකට පමණක් යොදවති. එසේත් නැතිනම් මේ යුද්ධයෙහි ධනපති-ප්‍රගතිශීලි හරයක් හා ජාතික විමුක්ති යුද්ධයක් බවට පත්විය හැකි වැදගත්කමක් ගෙනදෙන්නේයැයි කියති. අධිරාජ්‍යවාදය වූකලී සංවර්ධනයේ උච්චම අවධියයි. එතැනට ධනපති ක්‍රමය පිවිසියේ විසිවැනි සියවසේදීය. රදලක්‍රමය පෙරලාදැමීම සඳහා අවශ්‍යයෙන්ම පිහිටුවීමට සිදුවූ පැරණි ජාතික රාජ්‍යයන් තුළ ඇහුරුණු තදබද ස්වභාවයක් දැන් ධනවාදයට දැනේ. ධනවාදය විසින් කොතරම් දුරට නිෂ්පාදනය ඒකරාශී කළේදයත්, සම්පූර්ණ කර්මාන්තාංශ සම්මේල (සින්ඩිකේට්), සංගත (ට්‍රස්ට්) ධනවාදී කෝටිපතීන්ගේ හවුල් විසින් අල්ලාගෙන තිබේ. සමහර රටවල් යටත් විජිතයන් ලෙසද තවත් රටවල් මුදල් ධනය සූරාකෑමේ දහස් ගණන් නූල් සූත්තර මගින්ද මේ "ප්‍රාග්ධන අධිපතීන්" විසින් මුළු මහත් ලෝකයම පාහේ ඔවුන් අතර බෙදාගෙන තිබේ. නිදහස් වෙළඳාම හා තරඟය වෙනුවට ඒකාධිකාරීත්වය, ප්‍රාග්ධනය ආයෝජනය කිරීම හා අමුද්‍රව්‍ය ලබාගැනීම සඳහා පිටරටවල් අල්ලාගැනීම ආදිය ඉස්මතුවී ඇත. රදළවාදයට එදිරිව කළ සටනේදී ජාතීන්ගේ විමුක්තිකාමියා හැටියට පෙනීසිටි ධනවාදය අධිරාජ්‍යවාදී අවධියේදී ජාතීන්ගේ විශාලම පීඩකයා බවට පත්විය. ප්‍රගතිශීලීත්වයේ සිට ධනවාදය දැන් ප්‍රතිගාමීත්වයට ඇද වැටී තිබේ. නිෂ්පාදන බලවේගයන් ධනවාදය විසින් කොතරම් දුරට සංවර්ධන කළේදයත් මිනිස් සංහතිය එක්කෝ සමාජ වාදය වැළඳගත යුතුය, එසේත් නැතිනම්, යටත් විජිත ඒකාධිකාරීත්වය වරප්‍රසාදයන් හා නොයෙකුත් විධියේ ජාතික පීඩනයන් ඉවසමින් කෘත්‍රිමලෙස ධනවාදය ආරක්ෂාකිරීම සඳහා "මහා" බලවතුන් ගෙනයන සන්නද්ධ අරගලය අවුරුදු ගණනක් හෝ අවුරුදු දසක ගණනක් හෝ විඳදරා ගතයුතුය.

## වහල් ක්‍රමය ආරක්ෂාකිරීම හා තහවුරුකිරීම සඳහා විශාලම වහල් හිමියන් අතර කරන යුද්ධයකි

අධිරාජ්‍යවාදයේ අර්ථය තේරුම් කරදීම සඳහා ඊනියා ''මහා'' බලවතුන් (එනම් මහා කොල්ලකෑම් ජයව කළවුන්) අතර ලෝකය බෙදු හදගෙන තිබෙන සැටි පෙන්වන නිශ්චිත සංඛ්‍යාලේඛණ ගෙනහැර දක්වමු:

මෙයින් පෙනෙනුයේ 1789—1871 අවුරුදුවලදී නිදහස සඳහා පෙරමුණ ගෙන සටන්කළ ජාතීන් 1876 න් පසු ඉතා දියුණුවට පත්වූ සහ ''අධිකලෙස මේරූ'' ධනවාදයේ පදනම මත සිටගෙන ලෝකයේ වැඩි කොටසක් ජනතාවගේ හා ජාතීන්ගේ පීඩකයන් හා වහල් හිමියන් බවට පත්වී සිටින බවය. 1876 සිට 1914 දක්වා කාලය තුලදී ''මහා'' බලවතුන් හයදෙනා හතරැස් කිලෝමීටර කෝටි දෙකහමාරක් කොල්ලකෑවෝය. මේ ප්‍රදේශය යුරෝපය මෙන් දෙකහමාරක් පමණ විශාලය! ''මහා'' බලවතුන් හයදෙනා විසින් යටත් විජිතවල වහල්බවට ගෙන තිබෙන ජනගහණය කෝටි පනහකටත් (කෝටි 52,3) අධිකය. ''මහා'' බලවතුන්ගේ රටවල සිටින පුරවැසියන් හතරදෙනෙකුට ''ඔවුන්ගේ'' යටත් විජිතවල වැසියන් පස්දෙනා බැගින් සිටිති. යටත් විජිත අල්ලාගත්තේ කඩුවේ හා තුවක්කුවේ බලයෙන් බව, යටත් විජිතවල ජනයාට කෲර අන්දමින් සලකන බව, දහස් ගණනක් උපක්‍රම වලින් (ප්‍රාග්ධනය පිටරට පැටවීමෙන් විශේෂ වරදණ බඩු වෙළඳාමේදී වංචාකිරීම, ''අධිපති'' ජාතියේ පාලකයන්ට කීකරුවීම ආදියෙන්) ඔවුන් සූරාකනු ලබන බව කවුරුත් දන්නා කරුණු වෙති. ජාතීන්ගේ නිදහස හෝ බෙල්ජියමේ නිදහස හෝ සඳහා සටන් කරන්නෙමුයි ඉංග්‍රීසි–ප්‍රංශ ධනපතීන් කියන විට ඔවුන් කරන්නේ ජනතාව රැවටීමකි. ඇත්ත වශයෙන් ඔවුන් යුද්ධ කරනුයේ තමන් විසින් අල්වාගනු ලැබූ හා කොල්ලකනු ලැබූ යටත් විජිත ආරක්ෂා කරගනු පිණිසය. ඉංග්‍රීසි කාරයින් හා ප්‍රංශ ජාතිකයින් තම යටත් විජිත ජර්මන් අධිරාජ්‍යවාදීන් සමග ''සාධාරණ ලෙස'' බෙදගැනීමට එකඟ වන්නේ නම් ජර්මනිය විසින් බෙල්ජියම ආදී රටවල් වහාම නිදහස් කරනු ඇත. එළඹ ඇති තත්ත්වයේ එක් ලක්ෂණයක් නම්, යටත් විජිතවල ඉරණම විසඳනු ලබනුයේ යුරෝපයේකෙරෙන යුද්ධයකිනි. යුක්තිය හා ජාතික නිදහස (සිය පැවැත්ම සඳහා ජාතීන් සතු අයිතිය) පිළිබඳ ධනපති ආකල්පය අනුව නම් එංගලන්තයට හා ප්‍රංශයට එරෙහිව සිටින ජර්මනිය සම්පූර්ණයෙන්ම නිදෝෂ්‍යයි කීමට පුළුවන. යටත් විජිත බෙදගැනීමේදී ජර්මනිය ''නොසලකා හැර'' තිබේ. ඇයට වඩා අති විශාල



වහල්හිමි ''මහා'' බලවතුන් අතර ලෝකය බෙදගෙන තිබෙන සැටි:

| | යටත්විජිත | | | | අධිපති රටවල් | | එකතුව | |
|---|---|---|---|---|---|---|---|---|
| | 1876 | | 1914 | | 1914 | | | |
| | හතරැස් කිලෝ-මීටර | ජනගහ-ණය | හතරැස් කිලෝ-මීටර | ජනගහ-ණය | හතරැස් කිලෝ-මීටර | ජනගහ-ණය | හතරැස් කිලෝ-මීටර | ජනගහ-ණය |
| | දසලක්ෂ | | දසලක්ෂ | | දසලක්ෂ | | දසලක්ෂ | |
| එංගලන්තය | 22,5 | 251,9 | 33,5 | 393,5 | 0,3 | 46,5 | 33,8 | 440,0 |
| රුසියාව | 17,0 | 15,9 | 17,4 | 33,2 | 5,4 | 136,2 | 22,8 | 169,4 |
| ප්‍රංශය | 0,9 | 6,0 | 10,6 | 55,5 | 0,5 | 39,6 | 11,1 | 95,1 |
| ජර්මනිය | — | — | 2,9 | 12,3 | 0,5 | 64,9 | 3,4 | 77,2 |
| ජපානය | — | — | 0,3 | 19,2 | 0,4 | 53,0 | 0,7 | 72,2 |
| ඇමෙරිකානු එක්සත් ජනපදය | — | — | 0,3 | 9,7 | 9,4 | 97,0 | 9,7 | 106,7 |
| ''මහා'' බලවතුන් හයදෙනා සඳහා එකතුව | 40,4 | 273,8 | 65,0 | 523,2 | 16,5 | 437,2 | 81.5 | 960,6 |
| මහා බලවතුන් හැර අනිත් (බෙල්ජියම, ඕලන්දය අනික් ජාතීන්ට අයත් යටත් විජිත) | | | 9,9 | 45,3 | | | 9,9 | 45,3 |
| ''අර්ධ යටත් විජිත'' තුන (තුර්කිය, චීනය සහ පර්සියාව) | | | | | | | 14,5 | 361,2 |
| එකතුව | | | | | | | 105,9 | 1367,1 |
| ඉතිරි රජයන් හා රටවල් | | | | | | | 28,0 | 289,9 |
| මුළු ලෝකය (ආක්ටික් හා ඇන්ටාක්ටික් ප්‍රදෙශ හැර) | | | | | | | 133,9 | 1657,0 |

සංඛ්‍යාවක් ජාතීන් ඇගේ සතුරන් විසින් පීඩනය කරනු ලබයි. ඇගේ මිත්‍ර ඕස්ත්‍රියාව විසින් පීඩනය කරනු ලබන ස්ලාව් ජාතිකයින් සාර් රුසියාවේ නියම "ජනතා සිරගෙහි" මෙන් නොව ඊට වඩා බොහෝ නිදහස භුක්ති විඳිති. එහෙත් ජර්මනිය සටන් කරන්නේ ජාතීන්ගේ නිදහස සඳහා නොව ඔවුන් පීඩාකිරීම සඳහාය. වඩා මහළු තරබාරු පල්හොරුනට විරුද්ධව වඩා තරුණ හා ශක්තිමත් පල්හොරෙකුට (ජර්මනියට) ආධාර දීම සමාජවාදීන් වන අපේ කාර්ය නොවේ. සමාජවාදීන් විසින් කළයුත්තේ සොරුන් අතර අරගලය ප්‍රයෝජනයට ගෙන සියළුම හොරුන් බලයෙන් පහකර දැමීමය. ඒ සඳහා සමාජවාදීන් වන අප පළමුවෙන්ම යුද්ධය පිළිබඳ සත්‍යය මහජනයාට කියා දිය යුතුය. එනම් තෙයාකාරයකින් මේ යුද්ධය වහල්බව ශක්තිමත් කිරීම සඳහා වහල් හිමියන් විසින් කරන යුද්ධයකි. පළමුවැනිව වඩාත් "සාධාරණලෙස" යටත් විජිත බෙදගැනීමෙන් අනතුරුව ඒවා වඩා "මිත්‍ර ලීලාවෙන්" සූරාකෑම සඳහාත්, දෙවැනිව: ඕස්ත්‍රියාව හා රුසියාව යන දෙරටම (රුසියාව ඕස්ත්‍රියාවට වඩා දැඩිලෙස) හා වඩාත් අනර්ථ ප්‍රතිඵල සහිතව සිය ආධිපත්‍යය රැකගන්නේ හුදෙක් පීඩනය මගින්ම නිසාත් යුද්ධය මගින් එය තවත් උත්සන්න කිරීම තුළින් නිසාත්, ඒ අනුව "මහා" බලවතුන්ද තමන් යටතේ සිටින අන්ජාතීන් වඩා දැඩි පීඩනයට ගොදුරු කිරීම සඳහාත්; තෙවැනිව නිර්ධන පංතිය බෙදී පැගී සිටින නිසා ඉතා නිදහස් ජනරජයන් ඇති රටවල් ඇතුළු හැම රටකම පවා හිස ඔසවන ප්‍රතිගාමීත්වය ජාතිභේද උත්සන්න කරවමින් යුද්ධයෙන් විශාල ලාභ ලබන ධනපති පංතිය වාසි ලබමින් සිටින අතර වැටුප් වහල්බව ශක්තිමත් කරවීම හා දිග්ගැස්සවීම සඳහාත් ගෙන යන යුද්ධයක් බවයි.

## "යුද්ධය යනු දේශපාලනය වෙනත් මාධ්‍යයකින් (එනම් ප්‍රචණ්ඩව) කරගෙන යාමකි"

ඒ සුප්‍රකට උද්ධෘත පාඨය යුද්ධ ගැටළු ගැන ගැඹුරුලෙස හැදෑරූ ලේඛකයෙකුවන ක්ලාවුසේවිස්ට[5] අයත්ය. හැම යුද්ධයකම නියම තේරුම විනිශ්චය කිරීමේ න්‍යායික පදනම වශයෙන් එය මාක්ස්වාදීහු කවදත් නිවැරදිව සැලකූහ. නොයෙක් යුද්ධයන් දෙස මාක්ස් හා එංගල්ස් කවදත් බැලුවේ මේ දෘෂ්ටි කෝණයෙන්මය.

වර්තමාන යුද්ධය දෙසද එම ඇසින් බලමු. අවුරුදු දසක ගණනක් තිස්සේ, නොහොත් අඩ සියවසක කාලයක් තිස්සේ, එංගලන්තය, හා ප්‍රංශයද, ජර්මනිය හා ඉතාලියද ඕස්ත්‍රියාව හා රුසියාවද යන රටවල ආණ්ඩු සහ පාලක පංතීන්ද යටත් විජිත මංකොල්ලකෑමේ, විදේශීය ජාතීන් පීඩාකිරීමේ සහ කම්කරු පංති ව්‍යාපාරය මර්දනය කිරීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළ බව පෙනේ. මේ යුද්ධයේදී අනුගමනය කරන්නේද එම ප්‍රතිපත්තියම මිස අන් කිසිවක් නොවේ. නිදසුනක් වශයෙන් ඕස්ත්‍රියාව හා රුසියාව සාමකාමී කාලවලදී මෙන්ම යුද්ධ කාලවලදීත් අනුගමනය කරන්නේ ජනතාව වහල්බවෙහි රඳවාගැනීම මිස ඔවුන් මුදවාලීමේ ප්‍රතිපත්තියක් නොවේ. ඒ අතර, පසුගිය අවුරුදු දසක කීපය තුලදී චීනයේ, පර්සියාවේ, ඉන්දියාවේ හා අනිකුත් යටත් රටවල කෝටි සංඛ්‍යාත ජනතාව "මහා" බලවතුන්ගේ පීඩනයෙන් විමුක්තිය ලබාගැනීම සඳහාත්, ජාතික ප්‍රබෝධයක් සඳහාත් සටන් කරන සැටි පෙනේ. මෙවැනි ඓතිහාසික පදනමක් මත අරඹන යුද්ධයක් අද වුවත් ධනපති-ප්‍රගතිශීලි මෙන්ම ජාතික-විමුක්ති යුද්ධයක්ද විය හැකිය.

"මහා" බලවතුන් සහ ඔවුන් තුල සිටින ප්‍රධාන පංතීන්ගේ දේශපාලනයඉදිරියට ගෙනයාමක් ලෙස සලකා යුද්ධය දෙස බලන්නේනම් බලන්නේනම්, වත්මන් යුද්ධයේදී "පිතෘභූමියේ ආරක්ෂාව" යන අදහස සාධාරණයැයි කීම පැහැදිලිවම ඉතිහාසයට පටහැනි ව්‍යාජ හා කුහක ක්‍රියාවක් බව වහාම පෙනීයයි.

## බෙල්ජියමේ නිදසුන

ත්‍රෛපාක්ෂික (දැන් සිව්පාක්ෂික) ගිවිසුමට[6] අයත් සමාජ-අන්ත ජාතිවාදීහු (රුසියාවේ ප්ලෙඛානොව් සහ සමාගම) අන් හැමදේටම වඩා බෙල්ජියමේ නිදසුන ගෙනහැර දක්වීමට මහත්වූ ආශාවක් දක්වති. කෙසේවුවද, එම නිදසුන ඔවුන්ගේ අවාසියට හේතුවේ. උවමනා අවස්ථාවලදී සියළු ගිවිසුම් හා පොරොන්දු, යුද්ධ කරන රජයන් විසින් හැමදම හා හැමතැනම කඩාබිඳ දමන්නාක් මෙන්ම, ජර්මන් අධිරාජ්‍යවාදීහුද ලජ්ජා රහිත ලෙස බෙල්ජියමේ මධ්‍යස්ථබව කෙළසා දැමූහ. අන්තර්ජාතික ගිවිසුම් හා පොරොන්දු පිළිපැදිය යුතුයැයි කියා සිටින සියළු රජයන්, ජර්මනියට එදිරිව යුද්ධ ප්‍රකාශකොට බෙල්ජියමට නිදහස දී වන්දිගෙවිය යුතුයැයි ඉල්ලාසිටියේ යැයි සිතමු. එවැනි සිද්ධියකදී සමාජවාදීන් ජර්මනියේ සතුරන් වෙත අනුකූලතාවය දක්වනු ඇත. එහෙත් "ත්‍රෛපාක්ෂික (හා සිව්පාක්ෂික) ගිවිසුම" යුද්ධය කරගෙන යන්නේ බෙල්ජියම නිසා නොවේය යනු අතිශය ප්‍රකට කරුණකි. එය වසන්කිරීමට තැත් කරන්නෝ කුහකයන් පමණි. එංගලන්තය ජර්මනියේ යටත් විජිත සහ තුර්කිය කොල්ලකයි; රුසියාව ගැලීසියාව හා තුර්කිය

කොල්ලකයි; ප්‍රංශය අල්සාස්-ලොතරින්ග් හා රයින්හි වම් වෙරළද අල්ලා ගැනීමට ආශා කරයි; ඉතාලිය සමග කොල්ලකනු ලබන දෑ (ඇල්බේනියාව සහ පුංචි ආසියාව) බෙදගැනීමේ ගිවිසුමක් ඇතිකරගෙන තිබේ; රුමේනියාව සහ බල්ගේරියාව සමගද එවැනිම බෙදගැනීමක් සඳහා සාකච්ඡා කරගෙන යති. වත්මන් ආණ්ඩු විසින් පටන්ගෙන තිබෙන මේ යුද්ධයේදී ඔස්ත්‍රියාව හෝ තුර්කිය වැනි රටවල ගෙල මිරිකා දැමීමට ආධාර කරන්නේ නැතිව බෙල්ජියමට උදව් උපකාර කළ නොහැක! "මෙහිදී පිතෘභූමියේ ආරක්ෂාව" ගැන කතාකිරීමේ තේරුම කුමක්ද?? අධිරාජ්‍යවාදී යුද්ධයේ විශෙෂ අංගය මෙයය. ප්‍රතිගාමී ධනේශ්වර හා ඓතිහාසික වශයෙන් යල්පැනපු ආණ්ඩු විසින් අන්‍ය ජාතීන් පීඩනය කිරීමට අරඹන ලද යුද්ධයකි. අධිරාජ්‍යවාදී යුද්ධය සාධාරණයැයි කියන්නේ කවරෙක්ද, හේ ජාතීන් පීඩාකරන අධිරාජ්‍යවාදය සදකාලික පවත්වාගෙන යාම සඳහා ආධාර කරයි. අද මේ ආණ්ඩු තත්ත්වයන්ගෙන් ප්‍රයෝජනගෙන සමාජ විප්ලවය සඳහා සටන් කළ යුතුයැයි කියන්නේ කවරෙක්දහේ සමාජවාදය යටතේ පමණක් පැවතිය හැකි, සියළු ජාතීන්ගේ නියම නිදහස සඳහා සටන් කරන්නේය.

## රුසියාව සටන් කරන්නේ කුමක් සඳහාද ?

පර්සියාව, මැන්චූරියාව සහ මොන්ගෝලියාව පිළිබඳ සාර්වාදී දෙශපාලන ප්‍රතිපත්තින් රුසියාවේද නවීනතම ධනවාදී අධිරාජ්‍යවාදය පවතින බව පෙනේ. එහෙත්, රුසියාවේ පොදු වශයෙන් බලපවත්නේ යුද්ධවාදී හා රදළ අධිරාජ්‍යවාද යයි. රුසියාවේ තරම් ජනතාවගේ බහුතර සංඛ්‍යාව පීඩනයට පත්වී සිටින රටක් ලෝකයේ තවත් නැත. මහා රුසියානුන් රටේ ජනගහණයෙන් සියයට 43 ක් පමණකි, එනම් බාගයකටත් අඩුය. රුසියානුන් නොවන්නන්ට කිසිදු අයිතියක් නැත. කෝටි 17 ක් වන රුසියාවේ ජනගහණයෙන් කෝටි 10 ක් පීඩනයට භාජනවී සිටින අයිතිවාසිකම් අහිමිවූ අය වෙති. ගැලීසියාව අල්ලාගැනීමටද, උක්රයීනයේ නිදහස සහමුලින්ම වලලා දැමීමටද, අර්මේනියාව හා කොන්ස්තන්තිනෝපලය අල්ලාගැනීමටද සාර්වාදය යුද්ධය කරගෙන යයි. රටතුළ නැගී එන කලකිරීම වෙන අතකට හැරවීම සඳහාද, නැගී එන විප්ලවවාදී ව්‍යාපාරය මර්දනය කරදැමීම සඳහාද යුද්ධය මාධ්‍යයක් බව සාර්වාදයට පෙනේ. සෑම මහා රුසියානුන් දෙදෙනෙකුට, දැන් මූලික අයිතිවාසිකම් පවා නැති "විජාතිකයින්" දෙතුන් දෙනා බැගින් සිටිති. යුද්ධය මගින් යටත් ජාතීන්ගේ සංඛ්‍යාව වැඩිකර ගැනීමටද පීඩනය තවත් තහවුරු කිරීම සඳහාද වෑයම් කරන අතර සාර්වාදය, එමගින් මහා රුසියානුන්ගේම නිදහස සඳහා ගෙනයන සටන මර්දනය කර දැමීමටද ක්‍රියා කරයි. විදේශීය ජනතාවන් පීඩාකිරීම හා කොල්ලකෑමේ හැකියාව ආර්ථිකයේ චංචලභාවය ස්ථිර කිරීමේ හේතුව වනුයේ, නිෂ්පාදන බලවේගයන්ගේ දියුණුව වෙනුවට, බොහෝ විට අර්ධරදලවාදී ලෙස "විජාතික" ජනතාවන් සූරාකෑම ලාබ ගෙනදෙන උල්පතක් වන බැවිනි. රුසියාවේ නිදසුන අනුව බලන විට, වත්මන් යුද්ධයේ අන්ත ප්‍රතිගාමීබව හා ජාතික විමුක්ති විරෝධී ස්වභාවය විශෙෂයෙන් කැපී පෙනේ.

## සමාජ-අන්ත ජාතිවාදය යනු කුමක්ද ?

සමාජ-අන්තජාතිවාදය යනු වත්මන් යුද්ධයේදී "පිතෘභූමිය ආරක්ෂාකිරීම" යන අදහසට පක්ෂපාතවීමය. තවද, මෙම අදහසින් නිගමනය කැරෙන්නේ යුද්ධ කාලය තුලදී පංති සටන අත්හැරීම සහ යුද්ධ ණය මුදල්වලට පක්ෂව ඡන්දය දීමයි. සමාජ-අන්තජාතිවාදීන් ඇත්තවශයෙන් අනුගමනය කරන්නේ නිර්ධන පංති විරෝධී ධනේශ්වර ප්‍රතිපත්තියකි. මක්නිසාදයත්, "පිතෘභූමියේ ආරක්ෂාව" යනුවෙන් ඔවුන් ඇත්ත වශයෙන් රකින්නේ විදේශීය පීඩනයට විරුද්ධව සටන් කිරීමේ පරමාර්ථයෙන් නොව එක් හෝ අනෙක් "මහා" බලවතාගේ යටත්විජිත කොල්ලකෑමේ හා අන්ජාතීන් පීඩනය කිරීමේ "අයිතිය"යි. යුද්ධ කරන්නේ ජාතීන්ගේ නිදහස හා පැවැත්ම ආරක්ෂා කිරීමට යයි ධනපතියන් විසින් කරන ජනතා රැවටීම සමාජ-අන්තජාතිවාදීන් විසින්ද කරනු ලැබේ. එබැවින් ඔවුහු නිර්ධන පංතියට විරුද්ධව ධනපතීන්ගේ පැත්ත ගනිති. යුද්ධයට සම්බන්ධවී සිටින එක් බලවතුන් කණ්ඩායමක ආණ්ඩු හා ධනපතීන් අනුමත කරන හා වර්ණනා කරන අය මෙන්ම, යුද්ධයට සම්බන්ධවූ සියළු රටවල සමාජවාදීන්හට සිය "පිතෘභූමිය ආරක්ෂා කිරීමේ" සමාන අයිතිවාසිකම තිබෙන බව පිළිගන්නා කවුට්ස්කි වැනි අයද සමාජ-අන්තජාතිවාදීන් අතර වෙති. තත්වාකාරයෙන් බලනවිට "ස්වකීය" (හෝ වෙනයම්) අධිරාජ්‍යවාදී ධනපතීන්ගේ වරප්‍රසාද හා විශේෂ වාසිදායක තත්ත්වයන්ද පැහැරගැනීමේ හා කොල්ලකෑමේ අයිතියද ආරක්ෂාකිරීම භාරය කොටගත් සමාජ-අන්තජාතිවාදය යනු සියළුම පිළිගත් සමාජවාදී අදහස් සහ බාසෙල්හි[7] අන්තර්ජාතික සමාජවාදී සම්මේලනයේ තීරණයන්ද සහමුලින්ම පාවාදීමකි.

## බාසෙල් ප්‍රකාශනය

1912 දී බාසෙල්හි ඒකමතිකව සම්මතවූ යුද්ධය පිළිබඳ ප්‍රකාශනය සැලකිල්ල යොමුකරන්නේ ඇත්ත වශයෙන්ම එංගලන්තය හා ජර්මනිය අතරද ඔවුන්ගේ වත්මන් සගයින් අතරද, 1914 දී ඇවිළුන යුද්ධය වැනි යුද්ධයක් ගැනය. ප්‍රකාශනය විවෘතව කියා සිටින්නේ මහා බලවතුන්ගේ අධිරාජ්‍යවාදී මංකොල්ලකාරී ප්‍රතිපත්තිය මත පදනම්වූ ''ධනපතීන්ගේ ලාභ හා රජ පෙලපත්වල පෞද්ගලික අභිලාෂයන් සඳහා'' කෙරෙන මෙවැනි යුද්ධයක් කිසිදු ජනතා උවමනාවක නාමයෙන්යුක්ති සහගත කළ නොහැකි බවයි. යුද්ධය ''ආණ්ඩු''වලට අනතුරුදායක (හැම ආණ්ඩුවකටම එකසේ බලපාන) බවද, ''නිර්ධන පංති විප්ලවය'' කෙරෙහි ඔවුන්ගේ බියගැනද විවෘතව කියා සිටින ප්‍රකාශනය 1871 කොමියුනයේ හා 1905[8] ඔක්තෝබර්-දෙසැම්බර් ආදර්ශ, එනම් විප්ලව හා සිවිල් යුද්ධවල නිදසුන් ඉතා පැහැදිලි ලෙස මේ ආකාරයෙන් කම්කරුවන් විසින් තමන්ගේ ආණ්ඩුවලට එදිරිව අන්තර්ජාතික පරිමාණයෙන් ගෙන යා යුතු විප්ලවවාදී අරගල පිළිබඳ උපක්‍රම, නිර්ධන පංති විප්ලවයේ උපක්‍රම නියත වශයෙන්ම වත්මන් යුද්ධයටම යෝග්‍යවන පරිදි බාසෙල් ප්‍රකාශනය සටහන් කරයි. ස්ටුට්ගාට් යෝජනාවේ[9] සඳහන්වූ වචන, එනම් යුද්ධයක් ඇතිවූ අවස්ථාවේදී එයින් බිහිවන ''ආර්ථික හා දේශපාලන අර්බුදය'' ''ධනපති ක්‍රමයේ වැටීම ඉක්මන් කරවීම'' සඳහා ප්‍රයෝජනයට ගත යුතු බව, එනම් යුද්ධ කාලයේදී ආණ්ඩු මුහුණ පාන අමාරුකම් හා ජනතා කෝපය සමාජවාදී විප්ලවය සඳහා ප්‍රයෝජනයට ගත යුතුය යන්න සඳහන් කරයි.

සමාජ-අන්ත ජාතිවාදීන්ගේ ප්‍රතිපත්තිය ඔවුන් ධනේශ්වර විමුක්තිය අනුව බලා යුද්ධය සාධාරණයැයි කීමද ''පීතෘභූමිය ආරක්ෂාකිරීම'' අනුමතකිරීම යුද්ධණය සඳහා ඡන්දය දීම, අමාත්‍යාංශවලට රිංගා ගැනීම යනාදිය සමාජවාදය සම්පූර්ණයෙන්ම පාවාදීමකි. එය විස්තර කළ හැක්කේ, පහත පෙන්වන පරිදි, යුරෝපීය පක්ෂ වැඩි කොටසක් තුළ අවස්ථාවාදය සහ ජාතිකලිබරල්-කම්කරු ප්‍රතිපත්තිය ජයග්‍රහණය කිරීමෙන් පමණි.

## මාක්ස් හා එංගල්ස් වැරදි ලෙස උපුටා දැක්වීම

රුසියානු සමාජ-අන්තජාතිවාදීහු (ප්ලෙඛානොව්ගේ නායකත්වයෙන් යුත්) 1870 යුද්ධය ගැන මාක්ස්ගේ උපක්‍රමය සඳහන් කරති. රුසියාවට හා ප්‍රංශයට එදිරිව යුද්ධයක් ඇතිවුවහොත් ජර්මන් සමාජවාදීන්ගේ යුතුකම



සිය පීතෘභූමිය ආරක්ෂාකිරීමයැයි 1891 දී එංගල්ස් කල් ප්‍රකාශය ජර්මන්නු (ලෙන්ච්, ඩේවිඩ් සහ සමාගම වැනි අය) උපුටා දක්වති. තවද, මාක්ස් හා එංගල්ස් යුද්ධය හෙළාදුටු අතරම 1854—55 සිට 1870—71 දක්වා සහ 1876—77 කාලය තුලදී යුද්ධ හටගත් පසු, එක් හෝ අනෙක් යුදකාමී රටකට පක්ෂපාතවූ බව කියන කෞට්ස්කි වැනි සමාජ-අන්තජාතිවාදීහු ජාත්‍යන්තර අන්තජාතිවාදය, සනාථ කිරීමට හා නීත්‍යානුකූල කිරීමට ඉදිරිපත්වෙති.

අරාජික වාදය සාධාරණයැයි පෙන්වාදීම සඳහා ගීලෝම් සහ සමාගම මාක්ස්ගේ හා එංගල්ස්ගේ අදහස් විරූපී කරමින් ලියනලද්දේ යම්සේද, එසේම ඉහත සඳහන් උපුටා දැක්වීම් ධනපතීන්ගේ හා අවස්ථාවාදීන්ගේ උවමනාවන් සඳහා මාක්ස්ගේ හා එංගල්ස්ගේ අදහස් නින්දිතලෙස විරූපී කිරීමකි. තුන්වැනි නැපෝලියන්ගේ පරාජය දක්වා 1870—71 යුද්ධයේදී ජර්මනිය ගත් ක්‍රියා කලාපය ඓතිහාසික වශයෙන් ප්‍රගතිශීලිය;තුන්වැනි නැපෝලියන් සාර් සමග එකතුවී, ජර්මනිය රද්දලවාදී ලෙස භේදකොට තබා බොහෝ කාලයක් තිස්සේ මර්දනය කළ බැවිනි. එහෙත් එම යුද්ධය ප්‍රංශය කොල්ලකෑ තත්ත්වය (අල්සාසේ සහ ලොතරින්ග් ඇදා ගැනීමේ) දක්වා වර්ධනයවූ විට මාක්ස් හා එංගල්ස් තීරණාත්මකලෙස ජර්මනුන් හෙළාදැක්කාහ. යුද්ධාරම්භයේදී පවා බෙබෙල් හා ලිබ්ක්නේක්ට් යුද්ධ ණයමුදල් සඳහා ඡන්දය දීම ප්‍රතික්ෂේප කළ විට මාක්ස් හා එංගල්ස් එය අනුමත කළ අතර, ධනපතීන් සමග සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එක් නොවිය යුතුයැයිද, නිර්ධන පංතියේ ස්වාධීන පංති අයිතිවාසිකම් රැකගත යුතුයැයිද උපදෙස් දුන්හ. ධනපති-ප්‍රගතිශීලී ජාතිකවිමුක්ති වූ මෙම යුද්ධය පිළිබඳ තක්සේරුව වත්මන් අධිරාජ්‍යවාදී යුද්ධයට ගලපාලීමට තැත්කිරීම සත්‍යය සරදමට භාජන කිරීමකි. 1854—55 යුද්ධයටත්, දහනවවැනි සියවසේදී ඇතිවූ සියළුම යුද්ධවලටත්, එම සත්‍යය වඩාත් පුළුල් ලෙස ගැලපේ. යුදකාමී එකම රටකවත් එවකට නවීන අධිරාජ්‍යවාදය නොතිබුණි, සමාජවාදය සඳහා වාස්තවික තත්ත්වයන් මෝරා නොතිබුණි, බහුජන සමාජවාදී පක්ෂ නොතිබුණි. එනම් මහා බලවතුන් අතර යුද්ධයක් සම්බන්ධයෙන් ''නිර්ධන පංති විප්ලවයේ'' උපක්‍රම සකස් කිරීමෙහිලා බාසෙල් ප්‍රකාශනය පදනම් කොටගත් කොන්දේසි කිසිවක් එද නොතිබිණ.

සමාජවාදී විප්ලවීය යුගයට හා ප්‍රතිගාමී යල්පැනපු ධනපති පංතියක කාල පරිච්ඡේදයට නිසිලෙස ගැලපෙන මාක්ස්ගේ කියමනක් වන, ''කම්කරුවන්ට රටක් නැත'' යන්න අමතක කර දමමින් ධනපත් පංතියේ ප්‍රගතිශීලි භාවය පැවති යුගයේ යුද්ධ කෙරෙහි මාක්ස් දැක්වූ ආකල්පය

පමණක් සඳහන් කරන්නේ නම්, හේ නිර්ලජ්ජිත ලෙස මාක්ස්වාදය විරූපී කරයි. සමාජවාදී මතය වෙනුවට ධනවාදී මතය හුවා දක්වයි.

## දෙවැනි අන්තර්ජාතිකය බිඳ වැටීම

ළඟදී සිදුවීමට යන යුරෝපීය යුද්ධය, සියළුම ආණ්ඩුවල "සාපරාධී" සහ අතිශය ප්‍රතිගාමී ක්‍රියාවක් ලෙසද, එයින් විප්ලව පැනනැගී ධනවාදී ක්‍රමයේ විනාශය ඉක්මන් වියයුතුයැයිද, 1912 දී බාසෙල්හිදී රැස්වූ ලෝකයේ සියළුම රටවල සමාජවාදීහු උදරලෙස ප්‍රකාශ කළහ. යුද්ධය පැමිණියේය. අර්බුදය ඇතිවිය. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ වැඩි කොටසක් විප්ලවවාදී උපක්‍රම වෙනුවට ප්‍රතිගාමී උපක්‍රම පාවිච්චි කරමින් තම තමන්ගේ ආණ්ඩුවල හා ධනපතීන්ගේ පැත්තට පිල් මාරු කළහ. සමාජවාදය පාවාදීම නිසා (1889—1914) දෙවැනි අන්තර්ජාතිකය බිඳ වැටිණ. එම බිඳ වැටීමට හේතුව, සමාජ–අන්තජාතිවාදයේ උපත හා එය ශක්තිමත්වීම කෙසේ සිදුවූයේද යන්න අප විසින් අවබෝධ කර ගත යුතුය.

## සමාජඅන්තජාතිවාදය යනු අවස්ථාවාදයේ උච්චස්ථානයයි

දෙවැනි අන්තර්ජාතිකය පැවැති මුළු කාලය තුලම සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ තුළ විප්ලවවාදී හා අවස්ථාවාදී අංශ අතර සටනක් සිදුවෙමින් තිබුණි. මේ අනුව රටවල් කීපයකම (එංගලන්තය, ඉතාලිය, ඕලන්දය හා බල්ගේරියාව) භේදයක් ඇතිවිය. අවස්ථාවාදය කම්කරු පංති ව්‍යාපාරය තුල ධනපති ප්‍රතිපත්ති ප්‍රකාශවීමක් බවත් නිර්ධන පංති ජනතාවගේ හා පීඩාවිඳින ජනතාවගේ උවමනාවන්ට එදිරිව සුළු ධනපතීන්ගේ හා "ස්වකීය" ධනපතීන් සමග හවුල්වූ ධනපතීන් බවට පත්වූ කම්කරුවන් අතලොස්සකගේ උවමනාවන් ප්‍රකාශ කිරීමත් බවත්, එකද මාක්ස්වාදියෙක්වත් කිසි දිනෙක සැක නොකළේය.

XIX වැනි සියවසේ අවසාන භාගයේදී පැනනැගි වාස්තවික තත්වයන් නිසා අවස්ථාවාදය ඉතා උත්සන්න විය. ධනේශ්වර නීත්‍යානුකූලබව පාවිච්චිකිරීම පසුව එයට යටත්වීමක් බවට පරිවර්තනය විය. තවද කම්කරු පංතිය තුල සුළු නිලධාරීවාදී හා වංශක්කාර පැළැන්තියක් ඇතිවූ අතර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ වෙතට සුළු ධනේශ්වර "ගමන්සගයන්" ඇදී ඒමට විය.

යුද්ධය විසින් අවස්ථාවාදයේ වර්ධනය වේගවත් කොට, එය සමාජ-



අන්තජාතිවාදය බවට පරිවර්තනය කර තිබේ; අවස්ථාවාදීන් හා ධනපතීන් අතර තුබූ රහස් සහයෝගතාවය ප්‍රසිද්ධ එකක් බවට පත් වී ඇත. ඒ අතර යුද්ධාධිකාරීන් හැමතැනම යුද්ධ නීතිය පැනවූ අතර, තමන්ගේ පැරණි නායකයින් හැම දෙනෙකුම පාහේ ධනපතීන්ගේ පැත්තට ගියාවූ කම්කරු ජනතාවටද මුකවාඩම් බැන්දෝය.

අවස්ථාවාදය සහ සමාජ–අන්තජාතිවාදය සිටින්නේ එකම ආර්ථික පදනමක් මතය: තමන්ගේ වරප්‍රසාද ආරක්ෂාකරන්නාවූද, මහා බලවතෙකු වශයෙන් සිටීමෙන් ලැබෙන වාසිවලින් සහ "ස්වකීය" ධනපතියන් විසින් අන්ජාතීන් කොල්ලකෑමෙන් ලබාගන්නා ලාභවලින් ස්වල්පයක් තමන්ටද ලබාගැනීමේ "අයිතිය" ආදිය රකින්නාවූද, වරප්‍රසාදලත් කම්කරුවන් සුළු පිරිසකගේ හා සුළු ධනපතියන්ගේ උවමනාවන් එම පදනම වෙයි.

අවස්ථාවාදයේ සහ සමාජ–අන්තජාතිවාදයේ දේශපාලන-දෘෂ්ටිමය හරය එකකි: එනම් පංති සටන වෙනුවට පංති සහයෝගිතාවයද, විප්ලවවාදී සටන්විධි ප්‍රතික්ෂේප කිරීමද, "තම" ආණ්ඩු අමාරු තත්ත්වයන්ට මූණ පෑවිට එයින් ප්‍රයෝජනය ගෙන විප්ලවය ඉදිරියට ගෙනයාම වෙනුවට, අමාරුවට මූණ පෑ ආණ්ඩුවලට ආධාරකිරීමද වේ. යුරෝපය සම්පූර්ණ වශයෙන් ගෙන, බලන්නේ නම්, අපේ සැලකිල්ල පුද්ගලයින්ට (ඉතා බලැති අය වුවද) සීමා නොකර බලන්නේ නම්, සමාජ–අන්තජාතිවාදයේ පවුර වී තිබෙනුයේ අවස්ථාවාදී ප්‍රවණතාවය බව පෙනෙනු ඇත. එහෙත් විප්ලවවාදී කඳවුරේ හැම දිසාවකින්ම අඩු හෝ වැඩි වශයෙන් නොකඩවා මෙයට විරුද්ධත්වය ප්‍රකාශකරනු ඇසේ. නිදසුනක් වශයෙන් 1907 දී ස්ටුට්ගාට්හි පවත්වනලද සමාජවාදී අන්තර්ජාතික සම්මේලනයේ ඇතිවූ පිල් බෙදීම අරගෙන බලන්නේ නම් අන්තර්ජාතික මාක්ස්වාදය අධිරාජ්‍යවාදයට විරුද්ධවූ බවත් අන්තර්ජාතික අවස්ථාවාදය ඒ වන විටද අධිරාජ්‍යවාදයට පක්ෂපාත වී සිටි බවත් පෙනී යයි.

## අවස්ථාවාදීන් සමග සමගිය යනු කම්කරුවන් "ස්වකීය" ජාතික ධනපතීන් සමග හවුල්වීම සහ අන්තර්ජාතික විප්ලවවාදී කම්කරු පංතිය බේද භින්න කර දැමීමය

අතීතයේදී, යුද්ධයට පෙර, අවස්ථාවාදය "පිළි පැනීමක්" හා "සීමාන්තයක්" වශයෙන් ගණන් ගනු ලැබූ අතර එය සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක සාමාන්‍යයෙන් පවතින අංශයක් වශයෙන් නිතර

පාහේ සළකනු ලැබීය. අනාගතයේදී එයට කොහෙත්ම ඉඩ නොදිය හැකි බව යුද්ධය විසින් පෙන්වා දී තිබේ. ''මුහුකුරා'' ගිය අවස්ථාවාදය දැන් කම්කරු පංති ව්‍යාපාරය තුළ සම්පූර්ණ ධනපති දූතයෙකුගේ සේවය ඉටුකරයි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නිදසුනෙන් පෙණෙන පරිදි, අවස්ථාවාදීන් සමග සමගිය අන්ත කුහක කමකි. වැදගත් හැම අවස්ථාවකදීම (උදහරණයක් වශයෙන් අගෝස්තු 4 ද [10] චන්දය) අවස්ථාවාදීහු, ධනපතීන් සමග තිබෙන දහසක් සබඳකම් හා වෘත්තීය සමිතිවල කෘත්‍යාධිකාරී කමිටුවල සිය නියෝජිතයින් වැඩි සංඛ්‍යාවක් සිටීම ආදිය ප්‍රයෝජනයට ගෙන අවසාන නිවේදන නිකුත් කරති. අද අවස්ථාවාදීන් සමග සමගිය යනු ''ස්වකීය'' ජාතික ධනපතීන්ට කම්කරු පංතිය ඇත්ත වශයෙන් යටකිරීමය. අනිකුත් ජාතීන් පීඩාවට පත්කිරීම සඳහාද, අධිපති-ජාතික වරප්‍රසාදයන් සඳහා සටන් කිරීම පිණිසද, ජාතික ධනපතීන් සමග හවුලක් ඇතිකරගැනීමය. එහි තේරුම සියළුම රටවල විප්ලවවාදී නිර්ධන පංතිය භෙද කිරීමය.

බොහෝ සංවිධානවල බලය අල්ලාගෙන සිටින අවස්ථාවාදීන්ට එදිරිව කැරෙන සටන සමහර අවස්ථාවලදී කොතරම් අසීරු වුවද, එක් එක් රටක කම්කරු පක්ෂවලින් අවස්ථාවාදීන් නෙරපා දැමීම කෙබඳු ස්වරූපයක් දැරුවද, මේ ක්‍රියාදාමය වැලැක්විය නොහැකි, හා ඵලදයී එකකි. ප්‍රතිසංස්කරණවාදී සමාජවාදය මියයමින් පවතී; ප්‍රංශ සමාජවාදී පෝල් ගෝලෙගේ [11] උචිත කියමන පරිදි, පුනර්ජීවය ලත් සමාජවාදය ''විප්ලවවාදී, ප්‍රතිපත්තිය පාවා නොදෙන හා සටන්කාමී වන්නේය''

## කෞට්ස්කිවාදය

වචනයෙන් පමණක් මාක්ස්වාදය පිළිගැනීම ක්‍රියාවෙන් ''ස්ට්රුව්වාදය''[12] හෝ ''බ්‍රෙන්ටානොවාදය''[13] බවට පරිවර්තනවීම පිළිබඳ ඉතා හොඳ නිදසුනකි, දෙවැනි අන්තර්ජාතිකයේ ප්‍රධාන නායකයෙකු වන කෞට්ස්කි. ප්ලෙඛානොව් තවත් නිදසුනකි. ප්‍රකට බොරු තර්ක යොදමින් මාක්ස්වාදයෙන් එහි විප්ලවීය ජීව ප්‍රාණය ඉවත් කරනු ලැබේ. විප්ලවවාදී සටන්විධි සඳහා ප්‍රචාරය කිරීම හා ඒ සඳහා සූදනම්වීම, ඒ මඟ ඔස්සේ යාම පිණිස ජනතාවට අධ්‍යාපනයක් දීම හැර මාක්ස්වාදයේ අන් හැම අංශයක්ම ඔව්හු පිළිගනිති. සමාජ-අන්තජාතිවාදයේ මූලික අදහස වර්තමාන යුද්ධයේදී පිතෘභූමිය ආරක්ෂාකිරීම අනුගමනය කරන කෞට්ස්කි, එය වාමාංශිකයින්ගේ සිත්ගැනීම පිණිස කරන කානාපති කපටිකම් සමග—එනම් යුද්ධ ණය මුදල් සඳහා චන්දය ගන්නා බව වචනයෙන් දෙඩීම සමග එකට ගලපයි. යුද්ධය හා විප්ලවය අතර සබඳකම් පෙන්වා දෙමින්, ලඟාවෙමින් පවතින විප්ලවවාදී යුගය ගැන 1909 දී පොතක් ලියූ කෞට්ස්කි, ඉදිරියේ එන යුද්ධයෙන් විප්ලවවාදී ලෙස ප්‍රයෝජන ගතයුතුයැයි කියාසිටි 1912 බාසෙල් ප්‍රකාශනයට අත්සන් තැබූ කෞට්ස්කි, දැන් ඉමක් නැතිව සමාජ-අන්තජාතිවාදය ''සාධාරණයැ''යි කියමින් එය අලංකාර කරයි. තවද, ප්ලෙඛානොව් මෙන් ධනපතීන් සමග එකතුව විප්ලවය පිළිබඳ හැම අදහසක්ම අවඥවට භාජන කරන හෙතෙම, වහාම විප්ලවවාදී අරගලයක් සඳහා ගන්නා හැම පියවරක්ම හාස්‍යයට ලක් කරයි.

මෙම පසුබසිනසුළුභාවය, කොන්ද පණනැතිකම අවස්ථාවාදයට ගැතිවීම හා පෙරනොවූ විරූ ලෙස මාක්ස්වාදී න්‍යායයන් සමග දැඩි සටනක් නොකර කම්කරු පංතියට තම ලෝක විප්ලවවාදී කාරියභාරය සපුරාලීමට නොහැකිය. කෞට්ස්කිවාදය අහම්බෙන් ඇතිවූවක් නොවේ. එය දෙවැනි අන්තර්ජාතිකය තුළ පැනනැගි පරස්පර විරෝධීතාවයන්ගේ සමාජමය ඵලයකි. එය වචනයෙන් මාක්ස්වාදයට පක්ෂපාතවීමේ සහ ක්‍රියාවෙන් අවස්ථාවාදයට යටවීමේ මිශ්‍රණයකි.

නොයෙක් රටවල නොයෙක් අන්දමින් ''කෞට්ස්කිවාදයේ'' මූලික ව්‍යාජභාවය ප්‍රකාශවේ. ඕලන්දයේ රෝලන්ඩ් හොල්ස්ට් පිතෘභූමිය ආරක්ෂාකිරීමේ අදහස ප්‍රතික්ෂේප කළද, අවස්ථාවාදී පක්ෂ සමග සමගිය ආරක්ෂා කරයි. රුසියාවේ ට්‍රොට්ස්කිද මේ අදහස ප්‍රතික්ෂේප කරන නමුදු, ''නාෂ සර්යා'' [14] කණ්ඩායමේ අන්ත ජාතිවාදීන් හා අවස්ථාවාදීන් සමග සමගිය යුක්තිසහගත යැයි කියයි. රුමේනියාවේ රාකොව්ස්කි, දෙවැනි අන්තර්ජාතිකය කඩා වැටීමට හේතුව අවස්ථාවාදයයැයි කියමින්, එයට එදිරිව යුද්ධ ප්‍රකාශ කළද, පිතෘභූමිය ආරක්ෂාකිරීමේ අදහස යුක්තිසහගතයැයි පිළිගනී. මෙය ඕලන්ද මාක්ස්වාදීන් (ගෝටර් හා පන්නෙකුක්) ''අකර්මණ්‍ය රැඩිකල්වාදය'' යයි හැඳින්වූ දුෂ්ට ප්‍රවණතාවයකි, එය විප්ලවවාදී මාක්ස්වාදය වෙනුවට න්‍යායිකවශයෙන් සාරසංග්‍රහවාදය ඉදිරිපත් කිරීමක්ද, ක්‍රියාවෙන් අවස්ථාවාදයට යටත්වීමක් හෝ එය ඉදිරියේ බෙලහීනවීමක්ද වන්නේය.

## මාක්ස්වාදීන්ගේ උද්යෝග පාඨය විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උද්යෝග පාඨයය

යුද්ධය අතිශය තියුණු අර්බුදයක් ඇතිකොට ජනතා විපත විශාලලෙස උත්සන්න කළ බවට සැකයක් නම් නැත්තේය. මේ යුද්ධයේ ප්‍රතිගාමී

ස්වරූපයද, ''ජාතික'' දෘෂ්ටිය මගින් තම මංකොල්ලකාරී පරමාර්ථ යන්තම් වසාගැනීම සඳහා සියළුම රටවල ධනපතීන් ගෙනයන ලජ්ජා සහගත බොරු ප්‍රකාශනයන් ආදි හැමදෙයක්ද, වාස්තවික විප්ලවවාදී පදනමක් සහිත තත්ත්වයක් මත, ජනතාව අතර විප්ලවවාදී හැඟීම් නොවැලැක්විය හැකිසේ නිර්මාණය කරයි. ජනතාවගේ එවැනි හැඟීම් සචේතනික බවට පෙරළා ඒවා ගැඹුරුකොට, ඒවාට හැඩයක් ලබාදීමට ආධාරවීම අපේ යුතුකමය. මෙම කාරිය නිවැරදි ලෙස ප්‍රකාශකළ හැක්කේ, අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයකට හරවනු යන සටන් පාඨය ක්‍රියාවට පෙරළීමෙන් පමණකි. යුද්ධකාලය තුලදී ගෙනයන සෑම දැඩි පංති සටනකින්ද, බැරෑරුම්ලෙස ගෙනයන සෑම ''බහුජන'' අරගල උපක්‍රමයන්ගෙන්ද මෙය නොවැළැක්විය හැකිසේ ඉටුකරගත හැකිය: දැවැන්ත විප්ලවීය ව්‍යාපාරයක් පැන නගින්නේ මහා බලවතුන් අතර කෙරෙන පළමුවැනි හෝ දෙවැනි අධිරාජ්‍යවාදී ලෝක යුද්ධ සමය තුලදීද, නැතහොත් ඉන් පසුවද යන්න කීම අසීරු දෙයකි; එහෙත් අපේ කොන්දේසි විරහිත යුතුකම, මේ මග ඔස්සේ නොසැලී ක්‍රියාකාරී වීමය.

පැරිස් කොමියුනය විසින් පෙන්වනලද නිදසුන කෙරෙහි බාසෙල් ප්‍රකාශනය ආවධානය යොමු කරයි, එනම් ආණ්ඩු අතර යුද්ධය සිවිල් යුද්ධයක් දක්වා පරිවර්තනය කිරීමය. මීට අඩ සියවසකට පෙර නිර්ධන පංතිය බොහෝ දුර්වලවැසිටියේය;සමාජවාදය සඳහා වාස්තවික කොන්දේසි එද මෝරා නොතිබුණි. යුද්ධයට සහභාගිවූ සියළු රටවල් තුල ඇති විප්ලවවාදී ව්‍යාපාරයන් ඒකීභූත කිරීමක් සහ සහයෝගීතාවයක් ඇතිවිය නොහැකිවිය. පැරීසියේ කම්කරුවන්ගෙන් කොටසක් ''ජාතික දෘෂ්ටිය'' කෙරෙහි (1792 කේ සම්ප්‍රදයයන්) ඇළුම්කම් දක්වීම සුළුධනපති දුර්වල කමක්විය. පැරිස් කොමියුනය බිඳවැටීමේ හේතූන්ගෙන් එකක්වූ මෙය ඒ අවධියේදී මාක්ස් විසින් පෙන්වාදෙන ලදී. එද විප්ලවය දුර්වල කළ කොන්දේසි, අඩ සියවසකට පසු ක්‍රියා විරහිත වී තිබේ. පැරිස් කොමියුනාඩ් වරුන්ගේ ධිරගුණයෙන් යුත් ක්‍රියාකාරීත්වයෙන් බැහැරවී කටයුතු කිරීම ගැන අද සමාජවාදීන්ට කිසිසේත් සමාවදිය නොහැක.

## යුද පෙරමුණේ අගල්වලදී පෙන්වනලද සහෝදරත්වයේ ආදර්ශය

යුද පෙරමුණු අගල්වලදී පවා යුදකාමී රටවල සොල්දාදුවන් අතර ඇතිවූ සහෝදරත්වයේ නිදසුන් ගැන, සෑම යුදකාමී රටවලම ධනපති පුවත්පත් විසින් වාර්තාකරන ලදී. එවැනි සහෝදරත්වයකට එදිරිව යුද අධිකාරීන් (ජර්මනියේ හා එංගලන්තයේ) විසින් පණවනුලැබූ දැඩි නීතිවලින්, ආණ්ඩු සහ ධනපති පංතිය එය කොතරම් බැරෑරුම් ලෙස සළකන්නේද යන්න ඔප්පුවේ. බටහිර යුරෝපයේ සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල නායකයින් අතර අවස්ථාවාදය රජකරනවිටද මුළු මහත් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පුවත්පත් හා දෙවන අන්තර්ජාතිකයේ අධිකාරීන් විසින් සමාජ–අන්තජාතිවාදයට ආධාරදෙනවිටද, එවැනි සහෝදරත්වයන් ඇතිවන්නේ නම් සටනෙහි යෙදෙන සියළුම රටවල වාමාංශික සමාජවාදීන් පමණක් වුවද මේ සඳහා ක්‍රමාණුකූල ව්‍යාපාරයක් ගෙන ගියහොත්, දැන් සිදුවීගෙන යන මේ සාපරාධී ප්‍රතිගාමී වහල් හිමියන්ගේ යුද්ධය කෙටි කිරීමේත් අන්තර්ජාතික විප්ලවවාදී ව්‍යාපාරය සංවිධාන කිරීමේත් හැකියාව හොඳහැටි අපට පෙනේ.

## නීති විරෝධී සංවිධානයක වැදගත්කම

මේ යුද්ධයේදී අවස්ථාවාදීන්ට නොදෙවැනි සේ සමාජ–අන්තජාතිවාදය නිසා (ප්ලඛානොව් හා කෞට්ස්කි මෙන්) ලෝක ප්‍රසිද්ධ අරාජිකවාදීන් අපකීර්තියට භාජන වී තිබේ. මේ යුධයෙන් ඇතිවන එක් වැදගත් ප්‍රතිඵලයක් නම්, නිසැකවම අවස්ථාවාදය හා අරාජිකවාදය මරා දමනු ලැබීමය.

සියළුම අවස්ථාවන් හා තත්ත්වයන් යටතේ, කොතරම් සුළුවුවද, ජනතාව සංවිධානකිරීම හා සමාජවාදය ප්‍රචාරයකිරීම සඳහා නීති සහගත තත්ත්වයන් ප්‍රතික්ෂේප නොකළයුතු අතර, නීති සහගතබව ඉදිරියේ යටත්වීමේ ප්‍රතිපත්තිය සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ විසින් නැවැත්විය යුතුය. ''ධනපති මහත්වරුනි, නුඹලා ඉස්සෙල්ලා වෙඩි තබාපල්ලා'' යැයි එංගල්ස් ලීවේ සිවිල් යුද්ධය අදහස් කරමින් හා ධනපතීන් නීතියට පිටුපා ක්‍රියාකළ පසු නීතිය කැඩීම අපටද අවශ්‍යවන බව පෙන්වා දෙමිනි. අතිශය නිදහස් රටවල් ඇතුළු හැම තැනකදීම ධනපති පංතිය නීතිය කඩාදමන බව විප්ලවවාදී අරගල ක්‍රම ප්‍රචාරය කිරීම සාකච්ඡා කිරීම තක්සේරු කිරීම සූදනම් කිරීම සඳහා නීතිවිරෝධී සංවිධානයක් පිහිටුවන්නේ නැතිව ජනතාව විප්ලවයක් කරා මෙහෙයැවීම කළනොහැකි බව අර්බුදය විසින් පෙන්වා දී ඇත. නිදසුනක් වශයෙන් ජර්මනියේ සමාජවාදීන් විසින් කරනු ලබන සෑම අවංක දෙයක්ම, නින්දිත අවස්ථාවාදයේ සහ කුහක ''කවුට්ස්කිවාදයේ'' විරෝධය මැද ඊටත් වඩා රහසිගතවද කරනු ලැබේ. යුද හමුදවට නොබැඳෙන ලෙස ඉල්ලා සිටින ආයචනයන් බෙදහරින අයට එංගලන්තය බරපතල සිරදඬුවම් නියමකරයි.

නීති විරෝධී ප්‍රචාරක ක්‍රම ප්‍රතික්ෂේප කිරීම හා නීති සහගත ප්‍රචාරක සාහිත්‍යයන් මගින් එම ක්‍රම සරදමට ලක්කිරීම, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක සාමාජිකත්වය සමග දුරීම අනුකූල ලේස සැලකීම සමාජවාදය පාවාදීමකි.

## අධිරාජ්‍යවාදී යුද්ධයේදී "තම" ආණ්ඩුව පැරදවීම

මේ යුද්ධයේදී තම ආණ්ඩුවල ජය පතන්නවුන් හා "ජයත් නැත පරාජයත් නැත" යන උද්යෝග පාඨය ආරක්ෂා කරන්නවුන්ද, යන මේ දෙවර්ගයම එක හා සමානලෙස සමාජ-අන්තජාතිවාදී මත දරති. විප්ලවවාදී පංතියකට ප්‍රතිගාමී යුද්ධයකදී තම ආණ්ඩුව පරාජය වීමේ අපේක්ෂාවෙන් තොරව සිටිය නොහැක. යුද්ධමය අවාසි නිසා ඒ ආණ්ඩුව පෙරලාදැමීම ලෙහෙසි වන බව නොදක සිටිය නොහැකිය. යුද්ධකරන සියළු රටවල සමාජවාදීන් සියළු දෙනාම "තම" ආණ්ඩුවල පරාජය පැතීම "හාස්‍ය ජනක" සහ "මෝඩ" අදහසක් ලෙස පිළිගන්නේ, ආණ්ඩු අතර පටන්ගත් යුද්ධය ආණ්ඩු අතරම අවසන් විය යුතුයැයි පිළිගෙන, ඒ ආකාරයටම යුද්ධය අවසන් විය යුතුයැයි පතන ධනපතියෙකු පමණි. එහෙත්, අනෙක් අතට මේ මතය පංති හැඟීමෙන් යුත් හැම කම්කරුවෙකුගේම අදහස්වලට එකඟය. අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයක් දක්වා පරිවර්තනය කිරීමේ අපේ ක්‍රියාකාරීත්වය සමග එය ගැලපේ.

ඉංග්‍රීසි, ජර්මන් හා රුසියන් සමාජවාදීන් කොටසක් විසින් ගෙනයනලද බැරෑරුම් යුද-විරෝධී උද්ඝෝෂණය නිසා නිසැකවම ඒ රටවල හා ආණ්ඩුවල "යුද්ධමය බලමහිමය දුර්වලවී තිබේ". එහෙත් මේ උද්ඝෝෂණය සමාජවාදීන්ගේ කීර්තියට හේතු වේ. "තම" ආණ්ඩු විප්ලවීය ලෙස පෙරළා දමන්නේ නැතිව වෙනත් ගැලවීම් මඟක් නැතිබව සමාජවාදීන් ජනතාවට කිව යුතුය. වත්මන් යුද්ධයේදි ආණ්ඩු මූනපාන අමාරුකම් මේ පරමාර්ථය මුදුන් පමුණුවා ගැනීම සඳහාම ප්‍රයෝජනයට ගත යුතුය.

## ශාන්තිවාදයේ හා සාමයේ උද්යෝග පාඨය

යුද්ධයේ ප්‍රතිගාමී ස්වරූපය අවබෝධ කරගැනීම සහ කෝපය හා විරුද්ධත්වය ප්‍රකාශකිරීම ජනතාව තුල සාමකාමී හැඟීම් තුළින් ඇතිවේ. මේ හැඟීම් ප්‍රයෝජනයට ගැනීම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ යුතුකමය. මේ අදහස පෙරදැරි කරගත් ඕනෑම ව්‍යාපාරයක හෝ හැඟීම් ප්‍රදර්ශනයක ඔවුන් ඉතා උණුසුම්ලෙස ක්‍රියාකාරීවනු ඇත. විප්ලවවාදී ව්‍යාපාරයකින් තොරව, රටවල් ඈඳාගැනීම්වලින්, ජාතීන් පීඩාවට පත්කිරීමෙන් කොල්ල කෑම්වලින්, අද තිබෙන ආණ්ඩු හා පාලක පංතීන් අතර අළුත් යුද්ධවලට වියුක්තවූ සාමයක් ඇතිකර ගැනීමට පුළුවන්යැයි කියමින් ඔවුන් ජනතාව මුලා නොකරනු ඇත. ජනතාව එලෙස මුලාකිරීමෙන් යුදකරන ජාතීන්ගේ රහස් රාජ්‍යතන්ත්‍රයට සහ ප්‍රති විප්ලවවාදී සැලැස්මවලට පමණකි වාසි හා ඉඩ පහසුව සැලසෙන්නේ. ස්ථිර ප්‍රජාතන්ත්‍රවාදී සාමයක් අපේක්ෂාකරන හැම කෙනෙක්ම, ආණ්ඩුවලට හා ධනපතීන්ට එදිරිව සිවිල් යුද්ධයක් සඳහා ක්‍රියා කළ යුතුය.

## ස්වයං-තීරණය සඳහා ජාතීන්ගේ අයිතිය

සිය මංකොල්ලකාරී පරමාර්ථයන් වසාගැනීම සඳහා "ජාතික-විමුක්ති" දෘෂ්ටිය මේ යුද්ධයේදී ධනපති පංතිය පාවිච්චි කිරීම ජනතාව ඉතා පළල්ලෙස රැවටීමකි. ඉංග්‍රීසින් බෙල්ජියමට නිදහස ලබාදීමටද, ජර්මනිය පෝලන්තය නිදහස් කරගන්නා බවටද පොරොන්දු දී තිබේ. ලෝකයේ වැඩි හරියක් ජාතීන් මර්දනය කර සිටින්නන් විසින්, එම මර්දනය පළල් කිරීම හා වැඩිකිරීම සඳහා කරන යුද්ධයක් බව ක්‍රියාවෙන් අපි දකිමු.

ජාතීන් මර්දනය කිරීමට එදිරිව සටන් නොකර, සමාජවාදීන්ට සිය ශ්‍රේෂ්ඨ පරමාර්ථයන් මුදුන් පමුණුවා ගත නොහැකිය. ඒ නිසා මර්දනකාරී රටවල (විශේෂයෙන්ම "මහා" බලවතුන්යැයි කියාගන්නා රටවල) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ මර්දනය කරනු ලැබූ රටවල ජාතීන්ගේ ස්වෛරී භාවය පිළිබඳ අයිතිය, දේශපාලන අදහස අනුව, එහි තේරුම වන දේශපාලනමය වශයෙන් වෙන්වීමේ අයිතිය, කොන්දේසි රහිතව පිළිගත යුතුයැයි ඔවුන් විසින් ඉල්ලා සිටිය යුතුය. යටත් විජිතයකට හෝ පාලනය කරන රටකට හෝ එම අයිතිය ලැබීම සඳහා ...වන් නොකරන සමාජවාදියා අන්ත ජාතිවාදියෙකි.

මේ අයිතිය සඳහා සටන් කිරීමෙන් කුඩා රජයන් ඇතිවීමට අනුබලදීම වෙනුවට ඒ ජනතාවට වැඩි වාසි. ගෙනදෙන ආර්ථික සංවර්ධනයට අදාලවන, නිදහස්, නිර්භය, ඒ නිසාම පළල් හා වඩාත් පොදු විශාල රජයන් හා ඒකාබද්ධ රජයන් ඇතිකිරීමට මඟ පෑදෙයි.

මර්දනය කරනු ලැබ සිටින රටවලට අයත් සමාජවාදීන් මර්දනය කරන හා මර්දනය කරනු ලබන රටවල කම්කරුවන්ගේ සම්පූර්ණ සමගිය

සඳහා නොපැකිල සටන්කළ යුතුය (මෙයට සංවිධානාත්මක සමගියද ඇතුලත්ය). අධිකරණමය වශයෙන් එක් ජාතියක් තවත් ජාතියකින් වෙන් කිරීමේ අදහස (බාවර් සහ රෙනර් කියන "සංස්කෘතික ජාතික සෛවරීබවද") ප්‍රතිගාමීය.

අධිරාජ්‍යවාදය වූකලී "මහා" බලවතුන් අතලොස්සක් විසින් නිත්‍ය වශයෙන්ම ලෝකයේ අනිකුත් රටවල පෑගීම වැඩිකිරීමේ යුගයයි. එමනිසා ජාතීන්ගේ ස්වයංතීරණය පිළිබඳ අයිතිය පිළිනොගෙන, අන්තර්ජාතික සමාජවාදී විප්ලවය සඳහා සටන්කළ නොහැක. "විදේශීය ජනතාව පාගන ජනතාවකට නිදහස් විය නොහැක" (මාක්ස් හා එංගල්ස්). සුළු බලාත්කාරයකින්වුවද "තම" ජාතිය අනිත් ජාතිවලට ඉහලින් තැබීම පිළිගන්නා නිර්ධනයෙකුට සමාජවාදී නිර්ධනයෙකු විය නොහැක.

## 2 වැනි පරිච්ඡේදය

## රුසියාවේ පංති හා දෙශපාලන පක්ෂ

### ධනපති පංතිය සහ යුද්ධය

එක් අතකින් බලනවිට රුසියානු ආණ්ඩුව තම යුරෝපීය සගයන්ට වඩා පිටුපසින් ගමන් නොකරයි; ඔවුන් මෙන්ම රුසියන් ආණ්ඩුව "තම" ජනතාව මහත්සේ රැවටීමෙහි සමත් වී සිටී. ජනතාව තුළ අන්තජාතිවාදය කාවද්දමින් සාර් ආණ්ඩුව "සාධාරණ" යුද්ධයක් කරන බවට ආත්මාර්ථයෙන් තොරව ස්ලාව්ජාතික "සහෝදරවරුන්" ආරක්ෂාකරන බවට මතයන් ඇතිකිරීම සඳහ බොරුවෙන් හා කපටිකමෙන් පිරි විශාල හා බිහිසුණු යන්ත්‍රයක් ක්‍රියාවට යොදවා තිබේ.

ඉඩම්හිමි පංතියද, කර්මාන්ත හා වෙළඳ ධනපති පංතියේ උඩ කොටසද සාර් ආණ්ඩුවේ යුදකාමී ප්‍රතිපත්තියට ප්‍රබල ලෙස ආධාර කරති. ඔව්හු, තුර්කි හා ඕස්ත්‍රියානු බූදලය බෙදගැනීමෙන් අති විශාල ද්‍රව්‍යමය ලාභයන් හා වරප්‍රසාදයන් ලැබීමට සාධාරණලෙස බලාපොරොත්තු වෙති. සාර්ගේ යුදහමුද ජයගත හොත් තම සාක්කුවෙත ගලාඑන ලාභ ගැන මතු බලාපොරොත්තු තබමින් ඔවුන්ගේ සම්මේලන කීපයක් විසින් දැනටමත් හඬනගා තිබේ. තවද, රොමානොව් රජ පැළැන්තියේ අවසානය කල් දැමිය හැක්කේත්, රුසියාවේ නව විප්ලවය පමාකළ හැක්කේත්, සාර්ට ජය අත්වන විදෙශීය යුද්ධයක් මගින් පමණක් බව ප්‍රතිගාමීහු ඉතා හොඳින් දනිති.

යටත් පිරිසෙයින් යුද්ධාරම්භයේදී නාගරික "මැද" පංත්තියේ, ධනපති බුද්ධිමතුන්ගේ හා නිදහස් රැකියාවල යෙදී සිටින්නන් ආදීන්ගේ පළල් කොටස් අන්තජාතිවාදයෙන් පෙළෙන්නට විය. රුසියානු ලිබරල් ධනපතීන්ගේ පක්ෂය වන කැඩෙට්වරුන් විසින් සාර් ආණ්ඩුවට සම්පූර්ණ හා කොන්දේසි විරහිත ආධාර දී තිබේ. විදෙශ ප්‍රතිපත්ති ක්ෂෙත්‍රයෙහි කැඩෙට්වරු බොහෝ කල් පාලක පක්ෂයක්ව සිටියේය. මහා දෙශපාලන වංචාවල යෙදීමට සාර්ගේ රාජ්‍ය තන්ත්‍රික කටයුතුවලට බොහෝවිට ආධාර වූ සමස්ත ස්ලාව් ජාතිවාදය [15] කැඩෙට්වරුන්ගේ නිල දෙශපාලන දෘෂ්ටිය වී තිබේ. රුසියානු ලිබරල්වාදය ජාතික-ලිබරල්වාදය දක්වා දිරාපත් වී ඇත්තේය. කළු සියය[16] සමග එය "දෙශප්‍රෙමීත්වය" සඳහා තරඟයක යෙදී සිටී. ගොඩබිමේ හා මුහුදේ යුද්ධවලට එය සැම විටම කැමැත්තෙන් චන්දය දෙයි. පසුගිය සියවසේ හත්වැනි දසකයේදී ජර්මනියේ "නිදහස්-චින්තන" ලිබරල්වාදය දිරාපත්වැ ගොස් ඉන් ජාතික-ලිබරල් පක්ෂයක් ඇතිවූවාක් මෙන්ම, ආසන්න වශයෙන් රුසියන් ලිබරල් කඳවුරේද එවැනිම දෙයක් දක්නට ලැබේ. රුසියානු ලිබරල් ධනපති පංතිය ස්ථිර වශයෙන්ම ප්‍රති විප්ලවවාදී මග ගෙන සිටී. එම ප්‍රශ්නයේදී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ නිගමනය තහවුරු වී තිබේ. රුසියානු ලිබරල්වාදය රුසියානු විප්ලවයක ජංගමශීලී බලවේගයෙකැයි කියා සිටින අපේ අවස්ථාවාදීන්ගේ මතය සත්‍ය තොරතුරු විසින් බිඳහෙළා ඇත.

ධනපති පුවත්පත්, පූජක පැළැන්තිය ගොවීන් අතර ආදියෙහි ආධාරය ඇතිව අන්තජාතිවාදී හැඟීම් ඇවිස්සීමටද පාලක පන්තිය සමත්වී ඇත. කෙසේවෙතත්, ඝාතන භූමියෙන් සොල්දාදුවන් පෙරළා පැමිණීවිට ගම්බද පෙදෙස්වල හැඟීම් නොඅනුමානවම සාර්ට එදිරිව නැගී සිටිනු ඇත. ගොවීන් සමග සබඳකම් ඇති ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ අන්තජාතිවාදී රැල්ලට එදිරිව නැගී සිටීමට අපොහොසත්වූහ. තෘදවික්[17] පක්ෂය ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේදී[18] යුද්ධ ණය මුදල් සඳහා චන්දය දීම ප්‍රතික්ෂේප කළාය. එහෙත් එම පක්ෂය සිය නායක කෙරෙන්ස්කි මගින් රාජාණ්ඩුවට වාසි ගෙන දුන් ප්‍රකාශනයක් කළාය. "නරෝද්නික්වරුන්ගේ" නීත්‍යානුකූල පුවත්පත් පොදුවශයෙන් ලිබරල් නායකත්වය අනුව ගමන් කළේය. ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ වාමාංශික කොටසත්, එනම් අන්තර්ජාතික සමාජවාදි බියුරෝවට [19] සම්බන්ධිත ඊනියා සමාජ විප්ලවවාදී පක්ෂයත් එම රැල්ල සමගම යයි. එම පක්ෂයේ අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ

නියෝජිත රුබනෝවිච් මහතා එළිපිටම සමාජ–අන්තජාතිවාදියෙකුලෙස පෙනී සිටී. ලන්ඩන්හි පවත්වනලද ''ගිවිසුමට'' අයත් රටවල සමාජවාදීන්ගේ සම්මේලනයේදී [20] එම පක්ෂයේ නියෝජිතයින්ගෙන් බාගයක් අන්තජාතිවාදී යෝජනාවකට පක්ෂව චන්දය දුන්හ (අනික් බාගය මධ්‍යස්ථව සිටියේය). සමාජ-විප්ලවවාදීන්ගේ නීති විරෝධී පුවත්පත්වල (''නොවොස්ති''[21] පුවත්පත සහ අනිකුත් පත්‍ර) වැඩිබලය අන්තජාතිවාදීන් අතය. ''ධනපති කොටස්වලින්'' පැමිණි විප්ලවවාදීන්, එනම් කම්කරු පංතිය සමග සම්බන්ධකම් නැති ධනපති විප්ලවවාදීන්, මේ යුද්ධයේදී අන්ත පරාජයකට මුණ පා සිටිති. ක්‍රපෝට්කින්ගේ, බුර්ත්සෙව්ගේ හා රුබානොවිච්ගේ කණගාටුදායක ඉරණම විශෙෂයෙන්ම වැදගත්ය.

## කම්කරු පංතිය හා යුද්ධය

අන්තජාතිවාදී වසංගතයට ගොදුරු කිරීමට කිසිවකු සමත් නොවූ රුසියාවේ එකම පංතිය වන්නේ නිර්ධන පංතියයි. යුද්ධාරම්භයේදී ඇතිවූ සීමාව ඉක්මයාම් ස්වල්පයට පටලැවුනේ කම්කරුවන්ගේ ඉතාමත්ම නූගත් කොටස පමණි. මොස්කව්හි ජර්මන් විරෝධී කැරළිවල කම්කරුවන් ඉටුකළ කොටස මහත්සේ අතිශයොක්තියෙන් දක්වා ඇත. පොදු වශයෙන් හා සම්පූර්ණ ලෙස බලන විට රුසියාවේ කම්කරු පංතිය අන්තජාතිවාදයට ගොදුරු වන්නක් නොවන බව ඔප්පුවිය.

ඊට හේතුව රැඳී ඇත්තේ රටේ විප්ලවීය තත්ත්වයෙහි සහ රුසියාවේ නිර්ධන පංතියේ පොදු ජීවන තත්ත්වයෙහිය.

1912—1914 අවුරුදු රුසියාවේ මහා නව විප්ලවවාදී නැගීමක ආරම්භය සළකුණු කළහ. ලෝකයේ මින් පෙර නොවූ විරු මහා වැඩ වර්ජන ව්‍යාපාරයක් අපි නැවන දුටිමු. 1913 බහුජන විප්ලවවාදී වැඩ වර්ජනයට සහභාගිවූවන්ගේ බැලීම අනුව සංඛ්‍යාව ඉතාමත්ම අඩු ගණන් පසලොස් ලක්ෂයකි. 1914 දී එය විසි ලක්ෂය ඉක්මවමින් 1905 මට්ටමට ලඟාවිය. මාර්ග අවහිර කරන සටන් පළමුවෙන්ම හටගත්තේ යුද්ධාසන්න සමයේ පිටර්බුර්ග්හිදීය.

නීතිවිරෝධී කරනලද සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය අන්තර්ජාතිකය ඉදිරියේ සිය යුතුකම ඉටුකළේය. ඇ අත අන්තර්ජාතිකයේ ධජය නොසැලුනේය. අවස්ථාවාදී කාණ්ඩ හා පුද්ගලයින් සමග සියළු සංවිධානාත්මක බැඳීම් අප පක්ෂය කඩාබිඳ දැමුවේ බොහෝ කලකට පෙරය. ''කෙසේ හෝ නිත්‍යානුකූලබව ලබාගත යුතුය '' යන්නෙහි හා අවස්ථාවාදයේ යදම්වලින් අපේ පා බැඳ-තිබුණේ නැත. බිස්සොලාටිගේ අවස්ථාවාදී පක්ෂයෙන් වෙන්වීයාම නිසා ඉතාලි සහොදරවරුන්ට යහපතක් සිදුවූවාක් මෙන්ම, එම අවස්ථාව අපේ පක්ෂයට සිය විප්ලවවාදී යුතුකම ඉටුකිරීමට ආධාර දුන්නේය.

කම්කරු බහුජන කොටස්තුළ ''සමාජවාදී'' අවස්ථාවාදයේ සමෘඩියක් ඇති නොවන්නේ රටේ පොදු තත්ත්වය නිසාය. රුසියාවේ බුද්ධිමතුන්, සුළු ධනපතීන් ආදීන් අතර නොයෙකුත් මාදිලියේ අවස්ථාවාදයන් හා ප්‍රතිසංස්කරණවාදයන් අපි දකිමු. එහෙත් එය බලපාඇත්තේ දෙශපාලන වශයෙන් ක්‍රියාකාරී කම්කරු කොටස් අතර වූ නොවැදගත් සුළු කොටසකට පමණකි. අප රටේ වරප්‍රසාද ලබන කම්හල් කම්කරු හා ලිපිකරු සේවා තට්ටුව බොහොසෙයින්ම කුඩාය. නීත්‍යානුකූලත්වයට මෝඩ ගරු බුහුමන් දැක්වීමක් මෙහි ඇතිවිය නොහැක. යුද්ධයට පෙර ලික්විඩේටරවරුන්ට[22] (ඇක්සල්රොඩ්, පොත්රේසොව්, චෙරෙවානින්, මාස්ලොව් හා අනෙක් අයගේ නායකත්වයෙන්වූ අවස්ථාවාදීන්ගේ පක්ෂය) කම්කරු බහු ජනතාව අතර සැහෙන බලයක් නොතිබුණි. හතරවැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවට නියෝජිතයින් තෝරාපත් කිරිමේදී ලික්විඩේටර්–විරෝධී කම්කරු පංති අපේක්ෂකයින් හයදෙනාම (සියල්ලෝම) ජයගත්හ. මොස්කව් හා පෙත්‍රොග්‍රාඩ් නගරවල නීත්‍යානුකූල පාක්ෂික පුවත්පත්වල අලෙවිය හා ඒවාට අරමුදල් එකතු කිරීම මගින්, පංති හැඟීම් ඇති කම්කරුවන්ගෙන් පහෙන් හතරක් අවස්ථාවාදය හා ලික්විඩේටර්වාදය ප්‍රතික්ෂේප කර තිබෙන බව විවාද රහිතව ඔප්පුකොට තිබේ.

යුද්ධය පටන්ගත් ද සිට, සාර් ආණ්ඩුව විසින් දියුණු කම්කරුවන් හා නීතිවිරෝධී කර තිබෙන රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සමාජිකයින් දසදහස් ගණනක් සිරබාරයට ගෙන තිබේ, පිටුවහලටද යවා තිබේ. මේ තත්න්වයත් රටෙහි යුද්ධ නීතිය පැනවීම හා අපේ පුවත්පත් තහනම් කිරීම ආදියත්, ව්‍යාපාරය පස්සට දමා ඇත්තේය. එහෙත් ඒ සියල්ලම තිබියදී අපේ පක්ෂය රහසිගත විප්ලවවාදී වැඩකටයුතු දිගටම කරගෙන යයි. පෙත්‍රොග්‍රාඩ්හි අපේ පක්ෂ කමිටුව නීතිවිරෝධීලෙස ''ප්‍රොලිතාර්ස්කි ගෝලස්''[23] පුවත්පත නිකුත් කරයි.

පිටරට මුද්‍රණය කරනු ලබන අපේ පක්ෂයේ මධ්‍යම පුවත්පතවන ''සොට්සියාල්–ඩිමොක්‍රාට්හි''[24] ලිපි පෙත්‍රොග්‍රාඩ්හි මුද්‍රණයකොට පිට පළාත්වලට බෙදහරිනු ලැබේ. පත්‍රිකා රහසේ මුද්‍රණය කෙරේ. ඒවා යුද්ධහමුද බැරැක්කවල පවා බෙදහරිනු ලැබේ. නගරයෙන් පිට හුදකලා ස්ථානවල කම්කරුවන්ගේ රහස් රැස්වීම් පවත්වනු ලැබේ. මෑතක සිට පෙත්‍රොග්‍රාඩ්හි ලෝහ කම්කරුවන්ගේ මහා වැඩනැවැත්වීම් ඇරඹී තිබේ. මේ වැඩනැවැත්වීම් සම්බන්ධයෙන් පෙත්‍රොග්‍රාඩ්හි අපේ පක්ෂ කමිටුව කම්කරුවන් වෙත ආයාචනයන් කීපයක් නිකුත්කර තිබේ.

## ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ රුසියානු සමාජප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මන්ත්‍රී කණ්ඩායම සහ යුද්ධය

ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රීවරුන් අතර 1913දී භේදයක් ඇතිවිය. එක් පැත්තක චෙහීඩ්සේගේ නායකත්වයෙන් යුත් අවස්ථාවාදීන් හත්දෙනෙක් වූහ. මොවුන් නිර්ධන පංති නොවන පළාත්වලින් තෝරාපත්කරගනු ලැබූ අතර ඒ ප්‍රදෙශයේ කම්කරු සංඛ්‍යාව 2,14,000 ක් විය. අනෙක් පැත්තේ නියෝජිතයින්ගේ ගණන හයක් විය. ඔවුන් හැමදෙනම කම්කරු පෙදෙස්වලින් තෝරාපත් වූවන් වන අතර, එම පෙදෙස්වල කම්කරු සංඛ්‍යාව 10,08,000 ක් විය. රුසියාවේ විශාලම කර්මාන්ත මධ්‍යස්ථාන මේ පෙදෙස්වලට අයත්විය.

කැඩීයාමට හේතුවූ ප්‍රධාන ප්‍රශ්නයවූයේ විප්ලවවාදී මාක්ස්වාදයේ උපක්‍රම සහ අවස්ථාවාදී ප්‍රතිසංස්කරණවාදය යන දෙකෙන් එකක් තෝරාගැනීමය. ප්‍රායෝගිකව මතභේදය ප්‍රධාන වශයෙන් හටගත්තේ බහු ජනතාව අතර පාර්ලිමේන්තුවෙන් පිටත කරන කටයුතු වලදීය. එසේ වැඩකරන උදවිය විප්ලවවාදී පදනමක් මත සිටීමට නම් රුසියාවේ මෙවැනි වැඩ කළ යුතුව තිබුණේ නීතිවිරෝධී ලෙසය. චෙහීඩ්සෙ කණ්ඩායම ලික්විඩේටර්වරුන්ගේ (නීතිවිරෝධී වැඩකිරීම හෙළාදකින්නන්ගේ) හිතවත් අනුගාමිකයෙකුවිය. ඔව්හු හැම රැස්වීමකදීම සහ කම්කරුවන් සමග කරන හැම සාකච්ඡාවකදීමත් ලික්විඩේටර්වරුන් ආරක්ෂා කළාහ. භේදය හටගන්තේ එහෙයිනි. මන්ත්‍රීවරු හයදෙනා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු කණ්ඩායම පිහිටුවා ගත්හ. කම්කරුවන් බහුතර සංඛ්‍යාවකගේ ආධාරය විවාද රහිතව එම කණ්ඩායමට තිබෙන බව අවුරුද්දක් වැඩ කිරීමෙන් පසු පෙනීගොස් තිබේ.

යුද්ධාරම්භයේදී මේ වෙනස පැහැදිලිව කැපී පෙණුනි. චෙහීඩ්සෙ කණ්ඩායම තම වැඩ පාර්ලිමේන්තුවට පමණක් සීමා කළේය.ඔවුහු යුද්ධ ණයමුදල් පණතට පක්ෂව චන්දය නොදුන්හ. ඉන් කම්කරුවන් අතර තදබල කෝපයක් පැන නැගීමට ඉඩ තුබූ හෙයිනි (රුසියාවේ සුළු ධනපතිවාදී තෘදවික්වරු පවා යුද ණයමුදල් පණතට චන්දය නොදුන්බව අපි දුටුවෙමු). එහෙත් ඔවුන් සමාජඅන්තජාතිවාදට එදිරිව කිසි විරුද්ධත්වයක් ප්‍රකාශ කළේද නැත.

අප පක්ෂයේ දෙශපාලන ප්‍රතිපත්තිය ප්‍රකාශ කර සිටි රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මන්ත්‍රී කණ්ඩායම සම්පූර්ණ වෙනස් මගක් අනුගමනය කළේය. යුද්ධයට එදිරිව විරුද්ධත්වය ප්‍රකාශ කිරීමක් කම්කරුවන් අතරට ගෙනගිය මේ කණ්ඩායම, රුසියානු



නිර්ධන පංතියේ බහුජනතා කොටස් අතර අධිරාජ්‍ය විරෝධී ප්‍රචාරයන්ද ගෙනගියේය.

මේ ව්‍යාපාරයට කම්කරුවන්ගෙන් ලැබුනේ දැඩි අනුකම්පා සහගත අනුග්‍රහයකි. මෙයින් බියට පත්වූ ආණ්ඩුවට තමන්ගේම නීතිරීති දරුණු ලෙස උල්ලංඝණය කරමින් අපේ මන්ත්‍රී සහෝදරවරුන් සිරබාරයට ගෙන ජීවිතාන්තය දක්වා සයිබීරියාවට පිටුවහල් කරදැමීමට සිදුවිය. අපේ සහෝදරවරුන් සිරබාරයට ගැනීම පිළිබඳ පළමුවැනි නිල නිවේදනයේ සාර් ආණ්ඩුව මෙසේ සඳහන් කළේය.

‘‘මේ පිළිබඳව සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී සංගම්වලට අයත් සමහර මන්ත්‍රීවරු සහමුලින්ම වෙනස් තත්ත්වයක් දැරූහ. නීතිවිරෝධී ආයාචනයන් සහ ප්‍රචාරක කතා මගින් යුද්ධ විරෝධී උද්ඝෝෂණ ගෙනයාමත් රුසියාවේ යුදබලය සොළවාදැමීමත් ඔවුන්ගේ පරමාර්ථය විය.’’

සාර්වාදයට විරුද්ධ සටන ‘‘තාවකාලිකව’’ නවත්වන මෙන් වැන්ඩර්වෙල්ඩේ කරනලද සුප්‍රසිද්ධ ආයාචනයට විපක්ෂව මධ්‍යම කාරක සභාව මගින් පිළිතුරු දුන්නේ අපේ පක්ෂය පමණකි. තවද, බෙල්ජියමේ සාර් රාජදූතයාවූ කුදශෙව් කුමාරයාගේ සාක්ෂි අනුව, මේ ආයාචනය වැන්ඩර්වෙල්ඩේ විසින් තනිවම ලියනලද්දක් නොවන බවත්, ඉහත සඳහන් රාජදූතයාත් එයට සහභාගිවූ බවත් දැන් අපි දනිමු. ලික්විඩේටර්වරුන්ගේ මග පෙන්වීමේ මධ්‍යස්ථානය වැන්ඩර්වෙල්ඩේ සමග එකඟව ‘‘තම වැඩකට යුතුවලදී යුද්ධයට විරුද්ධ නැති’’ බව, පුවත්පත් මගින් නිළ වශයෙන් ප්‍රකාශ කළාය.

වැන්ඩර්වෙල්ඩේගේ ආයාචනයට එදිරිව ප්‍රකාශනයක් කම්කරුවන් අතර බෙදුහැරීම සාර් ආණ්ඩුව විසින් අපේ මන්ත්‍රී සහෝදරවරුන්ට විරුද්ධව ඉදිරිපත් කළ ප්‍රධාන චෝදනාවය.

නඩු විභාගයේදී[25] රජය වෙනුවෙන් පෙනීසිටි පැමිණිල්ලේ නිනාරෝකොමොව් මහතා, ජර්මන් හා ප්‍රංශ සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන් ආදර්ශයක් ලෙස අපේ සහෝදරවරුන්ට පෙන්වීය. ‘‘ජර්මන් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන් යුද්ධ ණයමුදල් පණතට පක්ෂව චන්දය දී ආණ්ඩුවේ මිතුරන් බවට පත්විය. ජර්මන් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන් ක්‍රියාකළේ ඒ ආකාරයටය. එහෙත් රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදයේ දූක්මුසු ආරක්ෂකයෝ එසේ නොකළහ... බෙල්ජියමේ හා ප්‍රංශයේ සමාජවාදීහු අනිකුත් පංතීන් සමග ඇති තම අරගල ඒකමතිකව අමතක කර දැමූහ. පක්ෂ බේදයන් අමතක කරදමා නොසැලී ධජය වටා රොක්වූහ.’’ එහෙත් මධ්‍යම කාරක සභාවේ උපදෙස් අනුව යමින් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී

කම්කරු පක්ෂයේ මන්ත්‍රී කණ්ඩායම එසේ නොකළ බව ඔහු චෝදනා කළේය.

අපේ පක්ෂය නිර්ධන පංතිය අතර ගෙනගිය යුදවිරෝධී උද්ඝෝෂණයේ පරිමාණය පිළිබඳ මවිත උපදවන පිංතූරයක් එම නඩු විභාගයේදී හෙළි විය. සාර් ආණ්ඩුවට "හෙළිකිරීමට" පුළුවන් වූයේ මේ අංශයේ අපේ සහෝදරවරු ගෙනයන වැඩවලින් ඉතා සුළු කොටසක් පමණක් බව කිව යුතු නොවේ. එහෙත් හෙළිකරනලද කරුණු අනුව වුවද, මාස කීපයක් පමණවූ සුළුකාලය තුලදී අපේ සහෝදරවරුන් කළ වැඩ කොතරම් විශාලද යන්න එය හොඳහැටි පෙන්වාදෙයි.

අපේ පක්ෂයේ කමිටු හා කණ්ඩායම් විසින් නිකුත් කරනලද යුදවිරෝධී හා අන්තර්ජාතික උපක්‍රමවලට පක්ෂපාත පත්‍රිකා නඩු විභාගයේදී කියවන ලදී. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රීවරු රුසියාව පුරා සිටින පංති හැඟීමෙන් යුත් කම්කරුවන් සමග සබඳකම් ඇතිව සිටි අතර, මාක්ස්වාදී ඇසකින් බලා යුද්ධය තක්සේරු කිරීමට කම්කරුවන්ට හැකිවන පරිදි හැම දෙයක්ම කළහ.

ඛාර්කොව් ගුබෙර්නියාවේ කම්කරුවන්ගේ මන්ත්‍රී මුරානොව් සහෝදරයා නඩු විභාගයේදී මෙසේ කීවේය:

"මහජනයා ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවට මා තෝරාපත්කළේ ආසනය රත්කිරීමට නොවන බව දන්නා නිසා, කම්කරු පංතියේ හැඟීම් දැනගැනීම පිණිස මම රටපුරා ඇවිද්දෙමි." අපේ පක්ෂයේ රහස් උද්ඝොෂකයෙකු ලෙස වැඩකළ බව පිළිගත් හෙතෙම උරල්හි වෙර්ඛ්නෙයිසෙට් කම්හලේ සහ අනිකුත් පෙදෙස්වල කම්කරු කමිටු සංවිධානය කළ බව පිළිගත්තේය. යුද්ධය පටන්ගැනීමෙන් පසු මුළුමහත් රුසියාව පුරාම ප්‍රචාරක කටයුතු සඳහා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ පාර්ලිමේන්තු කණ්ඩායම ගිය බවත් මුරානොව්, පෙත්‍රොව්ස්කි, බදයෙව් සහ අනිකුත් සහෝදරවරු කම්කරු රැස්වීම් විශාල ගණනක් සංවිධානය කළ බවත්, මේ රැස්වීම්වලදී යුදවිරෝධී යෝජනා සම්මතවූ බවත් නඩු විභාගයේදී හෙළිවිය.

සාර් ආණ්ඩුව විත්තිකරුවන්ට මරණ දඬුවම දෙන බවට තර්ජනය කළේය. එම නඩු විභාගයේදී මුරානොව් සහෝදරයා තරම් නිර්භීත ලෙස අනිත් අය ක්‍රියා නොකළේ මේ හේතුව නිසාය. ආණ්ඩුවේ නීතිවේදීන්ට චෝදිතයන් වරදකරුවන් කිරීම අපහසු වනසේ ඔව්හු ක්‍රියා කළහ. ප්‍රශ්නයෙ හරය — එනම්, කම්කරු පංතියට අවශ්‍ය කුමන විදියේ පාර්ලිමේන්තුවාදයක්ද යන වග — වසංකිරීම සඳහා රුසියානු සමාජ-අන්තජාතිවාදීන් විසින් මෙය අසාධාරණ ලෙස පාවිච්චි කරනු ලැබෙයි.



ස්යූඩෙකුම් හා හෙයිනේද, සෙඩ්බා සහ වයිලාන්ද, බිස්සොලාටි සහ මුසොලිනීද, වෙහීඩ්සේ සහ ප්ලෙඛානොව්ද පාර්ලිමේන්තුවාදය පිළිගනිති. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මන්ත්‍රී කණ්ඩායමේ අපේ සහෝදරවරුද, අන්ත ජාතිවාදයෙන් ඇත්වුනු බල්ගේරියාවේ හා ඉතාලියේ සහෝදරවරුද පාර්ලිමේන්තුවාදය පිළිගනිති. විවිධ වර්ගයේ පාර්ලිමේන්තුවාද තිබේ. ආණ්ඩුවලට බැලමෙහෙවරකම් කිරීම සඳහා සමහරු පාර්ලිමේන්තුව පාවිච්චිකරති. වඩාත්ම හොඳට තවත් සමහරු වෙහීඩ්සේ කණ්ඩායම මෙන් සියළු දෙයින්ම ගැලවීම සඳහා එය යොදවා ගනි. සෙස්සන් පාර්ලිමේන්තුව උපයෝගී කරගන්නේ, අවසානය දක්වා විප්ලවවාදීව සිටීමටය. ඉතාම අමාරු තත්ත්වයන් යටතේ වුවද සමාජවාදීන් හා අන්තර්ජාතිකවාදීන් ලෙස තම කාරිය ඉටුකිරීම සඳහාය. සමහරුන්ට පාර්ලිමේන්තු කටයුතු නිසා ඇමති ආසන ලැබෙන අතර, වෙනත් අයට ලැබෙන්නේ සිරගෙය, පිටුවහල්කිරීම් හා බරපතල වැඩ සහිත සිර දඬුවම්ය. සමහරු ධනපති පංතියටද අනෙත් අය නිර්ධන පංතියටද සේවය කරති. සමහරු සමාජ-අධිරාජ්‍යවාදීන්ය. අනෙක් අය විප්ලවවාදී මාක්ස්වාදීන් වේ.

## 3 වැනි පරිච්ඡේදය

## අන්තර්ජාතිකය යළි නගා සිටුවීම

අන්තර්ජාතිකය යළි නගා සිටුවිය හැක්කේ කෙසේද? එහෙත් පළමුව අන්තර්ජාතිකය යළි නගා නොසිටවිය යුතු ආකාරය ගැන වචන කීපයෙකි.

### සමාජ-අන්තජාතිවාදීන්ගේ හා මධ්‍යස්ථානයේ ක්‍රමය

ඇත්තෙන්ම සියළුම රටවල සමාජ-අන්තජාතිවාදීහු "අන්තර් ජාතිකවාදියෝ" වෙත්! යුද්ධය පටන්ගත්ද සිටම ඔව්හු අන්තර් ජාතිකය ගැන විශාලලෙස තැවෙති-අන්තර්ජාතිකය බිඳවැටීම ගැන "කථා අතිශයොක්තියක්" බව එක් අතකින් ඔව්හු අපට කියති. ඇත්තෙන්ම විශෙෂ කිසිවක් සිදුවී නැතිළු. කෞට්ස්කි ඒ ගැන කියන සැටි අසන්න: අන්තර්ජාතිකය වූකලී "සාමකාලීන උපකරණයකි". යුද්ධ කාලයේදී එම උපකරණය එතරම් උසස් බව ඔප්පු නොවීම සොබාවිකය. පැනනැගී තිබෙන අසීරු තත්ත්වයෙන් ගැලවීම පිණිස ඉතා ලෙහෙසි— එපමණක් නොව, අන්තර්ජාතික මහක් සමාජ-අන්තජාතිවාදීන් විසින්

සොයාගෙන තිබේ. පිළියම ඉතා වාම්ය; යුද්ධය අවසන් වනතුරු බලාසිටිය යුතුය. ඒ වනතෙක් හැම රටකම සිටින සමාජවාදීන් තම ''පිතෘභූමිය'' ආරක්ෂාකළ යුතුය; ''තම'' ආණ්ඩුවලට පක්ෂපාත වියයුතුය. යුද්ධයෙන් පසු එකිනෙකාට ''සමාව දී'' හැම දෙනාම නිවැරදියැයි පිළිගෙන, සාම කාලයේදී අපි සහෝදරවරුන් මෙන් ජීවත්වෙමුයි පිළිගත යුතුය. එහෙත් යුද්ධ කාලයේදී ජර්මන් කම්කරුවන් සිය සොහොයුරන් වන ප්‍රංශයින් මරාදැමිය යුතුයැයිද නැතිනම් ප්‍රංශයින් ජර්මනුන් මරා දැමිය යුතුයැයිද කියන යෝජනාවල එල්බ ගනිමු.

කෞට්ස්කි හා ප්ලෙඛානොව්ද, වික්ටර් ඇඩ්ලර් සහ හෙයිනේද මේ ගැන එකසමානලෙස එකඟවෙති. ''අපි, මේ අමාරුකාලය ගෙවූපසු එකිනෙකාගේ වැරදි නොසොයමු'' යැයි වික්ටර් ඇඩ්ලර් ලියයි. අන්තර්ජාතිකයේ ඉරණම ගැන, ''මෙතෙක් කිසිදු බැරෑරුම් සමාජවාදියෙක්වත් බිය අවුස්සන විධියේ හඬක් නගා නැතැ''යි කෞට්ස්කි ස්ථිරලෙස කියාසිටී. ''අහිංසකලෙස මරාදමනුලැබූ අයගේ ලෙයින් තැවී තිබෙන (ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට) අත්වලට අතදීම සිත්ගන්නා සුළු කාරියක් නොවේයැ''යි ප්ලෙඛානොව් කියයි. ''එහෙත් මෙතැනදී හදවතට ඉඩනොදී බුද්ධියට තැනදිය යුතුයැ'' යි ලියමින් ඔහු ''පොදු සමාවදීමක්'' එක වරම යෝජනා කරයි. ''පසුවී හෝ කරන පසුතැවිලි ගැන පවා අන්තර් ජාතිකය සැළකිලිමත් වියයුත්තේ ශ්‍රේෂ්ඨ කර්තව්‍යයේ නාමයෙනි'' යිඔහු වැඩිදුරටත් ලියයි. ''Sozialistische Monatshefte''[26] හි ලියන හෙයිනේ, වැන්ඩර්වෙල්ඩේ ''නිර්භීත හා ආඩම්බරලෙස හැසුරුනේ'' යැයි කියමින්, ජර්මනියේ වම්මුන්ට ඔහු ආදර්ශයක් පෙන්වා දී තිබේ යැයි කියයි.

යුද්ධය අවසානවූ විගසම කෞට්ස්කි,ප්ලෙඛානොව්, වැන්ඩර්වෙල්ඩේ සහ ඇඩ්ලර්ගෙන් යුත් කොමිසමක් පත්කොට, අන්‍යොන්‍ය සමාවදීමේ හැඟීම ඇති යෝජනාවක් ''ඒකච්ඡන්දයෙන්'' සම්මත කිරීම පිණිස සකස් කරනු ඇත. මතබේදය ඉතා සූක්ෂමලෙස සඟවාදමනු ඇත. සිදුවූයේ කුමක්ද යන්න අවබෝධකර ගැනීමට ආධාර වනවා වෙනුවට, ව්‍යාජ කඩදසි ''සමගියක්'' තුලින් කම්කරුවන් මුලාකරනුද ඇත. සියළුම රටවල අන්තජාතිවාදීන්ගේ හා කපටි කෛරාට්කයින්ගේ හවුලක් අන්තර්ජාතිකය පුනරුත්ථානයට පත් කිරීමක් ලෙස විස්තර කරනු ඇත.

එවැනි ''පුනරුත්ථානයක'' ගැබ්ව ඇති විශාල අනතුර ගැන අප දෙඇස් වසා නොසිටිය යුතුය. ලෝකයේ සියළුම රටවල සමාජ-අන්තජාතිවාදීහුද, ඒ ගැන මහත්වූ සැලකිල්ලක් දක්වති. සමාජවාදයද නැතහොත් ජාතිවාදයද, යන පැනය තම රටවල කම්කරුවන් විසින් තනිවම අවබෝධ කරගැනීමට උත්සාහ දැරීම ගැන ඔවුන් හැමදෙනාම එකසේ අකමැති වී සිටිති. එකිනෙකාගේ පව් වසංකිරීමට ඔව්හු එකසේ උවමනාවක් දක්වති. ''අන්තර්ජාතික'' කෛරාට්කබවේ ගුරා වන කෞට්ස්කි විසින් දැනටමත් යෝජනාකර තිබෙන දෙයට වඩා වැඩි යමක් ඉදිරිපත් කිරීමට අනිත් අයට පුළුවන්කමක් නැත.

එහෙත් මේ අනතුර මෙතෙක් හරිහැටිව යම්තමින්වත් වටහාගෙන නොමැත. යුද්ධය පටන්ගෙන අවුරුද්දක් ඇතුලතදී අන්තර්ජාතික සබඳකම් ඇතිකර ගැනීම සඳහා වෑයම් කීපයක් කළ සැටි අපි දුටුවෙමු. තම ''පිතෘභූමියේ'' ධනපතීන්ට හා යුද අණදෙන සෙනෙවි මණ්ඩලවලට ආධාරදීම පිණිස දැඩි අන්තජාතිවාදීන් රැස්වුනු ලන්ඩන් හා වියානා[27] සාකච්ඡාගැන මෙහිදී අපි නොකියමු. ලුගානෝ[28] හා කෝපන්හෙගන්[29] සාකච්ඡා ගැන, අන්තර්ජාතික කාන්තා සාකච්ඡාව[30] සහ අන්තර්ජාතිකය තරුණ සාකච්ඡාව[31] ගැනය, අප සඳහන් කරන්නේ. ඉහත සටහන් අවදානම ඒ අය කොහෙත්ම දැක නැත. එසේ වූවද ඒ සාකච්ඡාවලට තුඩුදුන් පරමාර්ථය උසස්විය. සටන්කාමී අන්තර්ජාතික පිළිවෙතක් ඔවුන් ඉදිරිපත්නොකළාසේම සමාජ-අන්තජාතිවාදීන් විසින් අන්තර්ජාතිකය ''පුනරුත්ථාන කිරීමේ'' පිළිවෙතෙහි ඇති අවදානම ගැන නිර්ධන පංතියට ඔව්හු කරුණු පෙන්වූහ. සමාජ-අන්තජාතිවාදයට එදිරිව සටන් නොකරන්නේ නම්, සමාජවාදයේ අනාගතය අඳුරුය යන්න කම්කරුවන්ට කියන්නේ නැතිව, පැරණි යෝජනා නැවත වරක් ඉදිරිපත් කරමින් ඔව්හු සෑහීමට පත්වූහ. වැඩිම වුවත් ඔව්හු එක තැන පල්වෙමින් කල් බැලූහ.

## විරුද්ධ පක්ෂය තුළ තත්ත්වය

ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විරුද්ධ පක්ෂය තුළ තත්ත්වය කෙරෙහි අන් හැමටම වඩා වැඩි උනන්දුවක් අන්තර්ජාතිකය දක්වන බවට සැකයක් නැත. දෙවැනි අන්තර්ජාතිකයේ අතිශයින්ම ශක්තිමත් හා ප්‍රධාන පක්ෂයවූ ජර්මන් නිළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, අන්තර්ජාතික කම්කරු සංවිධානයට දරුණු පහරක් ගැසීය. ඒ කෙසේවූවද බලගතු විරුද්ධපක්ෂයක් පැන නැංගේ, ජර්මන් ප්‍රජාතන්ත්‍රවාදය තුළමය. පළමුවරට අසන්ට ලැබුනේ යුරෝපයේ විශාල පක්ෂ අතුරෙන්, සමාජවාදයේ ධජයට පක්ෂව සිටි ජර්මන් පක්ෂයේ සහෝදරවරුන්ගේ

විරුද්ධත්වය ප්‍රකාශකිරීමේ බලගතු හඬය. "Lichtstrahlen"[32] සහ "Die Internationale"[33] සඟරා අප කියැවූයේ ප්‍රීතියෙනි. "ප්‍රධාන හතුරා තම රටතුලම සිටී" යන විප්ලවවාදී ප්‍රකාශනය ඇතුළු නීතිවිරෝධී ප්‍රකාශන ජර්මනිය තුළ බෙදහරින බව ඇසූ අපි වඩාත් ප්‍රීතිවීමු. ජර්මන් කම්කරුවන් අතර සමාජවාදයේ ජීවය තිබෙන බවත්, විප්ලවවාදී මාක්ස්වාදය වෙනුවෙන් ඉදිරිපත්වීමට තරම් ජනතාව තවම ජර්මනියේ සිටින බවත් එම සිද්ධීන් කියාපායි.

වත්මන් සමාජවාදී ව්‍යාපාරයේ හෙදවීම දැඩිලෙස පෙනීගියේ ජර්මන් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදය තුලිනි. මෙහිදී මත තුනක් ඇතිවී තිබෙන සැටි හොඳින් පෙනේ: ජර්මනියේ තරම් ඉතා පහත් දීන තත්ත්වයකට අන් රටක් නොවැටුණු සමාජඅන්තජාතිවාදී අවස්ථාවාදීන්; අවස්ථාවාදීන්ට මෙහෙවරකම් කිරීම හැර අන් කිසිවක් කිරීමෙහි අපොහොසත්, කෞට්ස්කිවාදී "මධ්‍යවාදීන්" සහ ජර්මනියේ එකම නියම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන වාමාංශයය.

ජර්මන් වාමාංශයේ තත්ත්වය ගැන අප තුළ අන් හැමටම වඩා උවමනාවක් ඇතිවීම සොබාවිකය. ඔවුන් තුළ අපේ සොහොයුරන් දකින්නෙමු. ඔවුන් සියළුම ජාත්‍යන්තරවාදීන්ගේ අපේක්ෂාව වේ.

ඔවුන'තර තත්ත්වය කෙසේද?

"Die Internationale" ජර්මන් සඟරාව නිවැරදි ලෙස කියන පරිදි ජර්මන් වම තවම පැහෙන අවස්ථාවෙක සිටී. ඔවුන් නැවත අළුත් කණ්ඩායම්වලට බෙදෙනු ඇත. ඔවුන් අතර වඩා ස්ථිරසාර අය මෙන්ම ස්ථිර සාරත්වයෙන් අඩු අයද ඇත.

රුසියානු අන්තර්ජාතික වාදීන් වන අපි, ජර්මන් වාමාංශයේ අපේ සොහොයුරන්ගේ අභ්‍යන්තර කටයුතුවලට අත දැමීමට අයිතියක් අපට තිබේයැයි පිළිනොගනිමු. වේලාවේ හා පරිසරයේ තත්ත්වය අනුව අවස්ථාවාදීනට එදිරිව සටන් කිරීමේ උපක්‍රම තෝරාගැනීමට තරම් දක්ෂතාවයක් ඔවුන් සතුව තිබෙන බව අපට අවබෝධවී තිබේ. එහෙත් පැනනැග තිබෙන තත්ත්වය ගැන අපේ අදහස් එළිපිටම කියාපෑම අපේ අයිතිය ලෙස අපි ගණන් ගනිමු.

කෞට්ස්කිගේ "මධ්‍යත්වය" විවෘත සමාජ–අන්තජාතිවාදීන්ට වඩා මාක්ස්වාදයට හානි කරන්නේයැයි "Die Internationale" සඟරාවේ ප්‍රධාන ලිපිය ලිවූ ලේඛකයා කියන විට, ඔහු සම්පූර්ණයෙන්ම නිවැරදිය යනු අපේ ස්ථිර හැඟීමය. වෙනස්කම් සඟවාදැමීමට උත්සාහ දරන්නේ කවරෙක්ද, එසේත් නැතිනම් මාක්ස්වාදයේ නාමයෙන් කෞට්ස්කිවාදය



දැන් දේසනාකරන දෙය උගැන්වීමට යන්නේ කවරෙක්ද, ඇත්තවශයෙන් කම්කරුවන් නිදිගැන්වීමට යන්නේ කවරෙක්ද, හේ කටයුතු කරන අතර, හේ ප්‍රශ්නය ඇති සැටියෙන්ම කම්කරුවන් වෙත ඉදිරිපත් කොට තමන් රිසි පක්ෂයක් තෝරාගැනීමටයැයි කියන ස්යුඩෙකුම්ලාට හා හෙයිනේලාට වඩා භයානක අයෙක් වෙයි.

"නිලමණ්ඩලවලට"[34] එදිරිවැ මැත භාගයේදී කෞට්ස්කි හා ගාසේ විසින් කරගෙන යනු ලබන වැඩ නිසා කම්කරුවන් නොමඟ යා යුතුනැත. ඔවුන් හා ෂෙයිඩමාන්වරුන් අතර මතබේදය මූලධර්ම පිළිබඳ නොවේ. හින්ඩන්බර්ග් සහ මැකෙන්සන් දැනටමත් ජයගෙන ඇතැයි සිතන පළමුකී කොටස, අල්ලාගැනීම් වලට එදිරිව විරුද්ධත්වය ප්‍රකාශකිරීමේ වැඩවල යෙදිය හැකියැයි සිතති. හින්ඩන්බර්ග් සහ මැකෙන්සන් තවම ජයලබා නැතැයි සිතන අනිත් අය "අන්තිමය දක්වා අල්ලාගෙන සිටිය යුතු"යැයි කියති.

යුද්ධයෙන් පසු මූලධර්ම පිළිබඳ සටන කම්කරුවන්ගෙන් සඟවා තැබීම සඳහාද, වැනෙන සුළු "වාමාංශික" හැඟීමෙන් යුතුව කඩදාසි යෝජනා 1001ක් සම්මත කොට එමගින් පැනය වසාදැමීම සඳහාද, කෞට්ස්කිවාදය "නිලධාරීන්ට" එදිරිවැ ව්‍යාජ සටනක යෙදීසිටී. දෙවැනි අන්තර්ජාතිකයේ රාජ්‍යතන්ත්‍රිකයෝ එවැනි දේවල විශෙෂඥයෝ වෙති.

"නිලධාරීන්ට" එදිරිවැ ගෙනියන අසීරු සටනේදී ජර්මන් විපක්ෂය කෞට්ස්කිවාදීන් මතුකරනලද මූලධර්ම රහිත විරුද්ධත්වය පාවිච්චිකිරීමේ අවශ්‍යතාවය වටහාගත හැකිය. කෙසේවූවද, නව–කෞට්ස්කිවාදයට විරුද්ධ හැඟීම සෑම අන්තර්ජාතිවාදියෙකුගේම උරගලවිය යුතුය. කෞට්ස්කිවාදයට විරුද්ධව සටන් කරන්නාද, තම අදහස් වෙනස්කර ගැනීමට යන්නේයැයි එහි නායකයින් හැඟවූවද, සියළුම ප්‍රධාන කරුණු අනුව "මධ්‍යතාවය" අන්තජාතිවාදයේ හා අවස්ථාවාදයේ මිතුරා වශයෙන් දිගටම වැඩකරන බව අවබෝධකරගන්නා පමණකි, නියම ජාත්‍යන්තරවාදියෙකු වන්නේ.

පොදු වශයෙන් ජාත්‍යාන්තරය තුළ වැනෙනසුළු කොටස් කෙරෙහි අප දක්වන ප්‍රතිපත්තිය විශාල වැදගත්කමක් දරයි. මේ කොටස් වැඩිවශයෙන් "ශාන්තිවාදී" අදහස් දරන සමාජවාදීන්ගෙන් සමන්විතය. මේ අය මධ්‍යස්ථ රටවල හා යුද්ධකරන රටවලද (නිදසුනක්, එංගලන්තයේ නිදහස් ලේබර් පක්ෂය) සිටිති. මෙ කොටස්වලට අපේ ගමන් සගයන් පමණක් විය හැකිය. අන්තජාතිවාදයට එදිරිව ඔවුන් සමග සබඳකම් ඇතිකිරීම අත්‍යාවශ්‍යයය. එහෙත් එකක් මතක තබා ගතයුතුය. තාවකාලික මිතුරන් වන මේ අය අන්තර්ජාතිකය පුනරුත්ථානය කළවිගසම

අප සමග නොව, අපට එදිරිව කෞට්ස්කි, ෂෙයිඩමාන්, වැන්ඩර්වෙල්ඩේ සහ සම්බා සමග මිත්‍රවනු ඇත. මේ කොටස්වලට පමණක් පිළිගැනීමට හැකිවනසේ අන්තර්ජාතික සම්මේලනවලදී වැඩපිළිවෙලවල් සීමාකළ යුතුනැත. එසේ නැතිනම් අපද වැනෙන සුළු ශාන්තිවාදීන්ගේ සිරකරුවන් වනු ඇත. නිදසුනක් වශයෙන් බර්න්හි ජාත්‍යන්තර කාන්තා සම්මේලනයේදී සිදුවූයේ මෙවැන්නකි. ක්ලාරා සෙට්කින් සහොදරියගේ මතයට එකඟවූ ජර්මන් නියෝජිත මණ්ඩලය ඇත්ත වශයෙන්ම ''මධ්‍යස්ථය'' අනුගමනය කළේය. ට්‍රුලෙස්ට්‍රාගේ නායකත්වයෙන්යුත් ඕලන්දයේ අවස්ථාවාදී පක්ෂයට හා (නිදහස් ලේබර් පක්ෂයේ)[35] නියෝජිත මණ්ඩලයට පමණක් පිළිගත හැකි අදහස් පමණක් එම කාන්තා සාකච්ඡාවේ ඇතිවිය. ලන්ඩන්හි පවත්වනලද ''ගිවිසුමේ'' අන්තජාතිවාදීන්ගේ සම්මේලනයේදී වැන්ඩර්වෙල්ඩේගේ යෝජනාවට පක්ෂව නිදහස් ලේබර් පක්ෂය ඡන්දය දුන්බව අමතක නොකරමු. යුද්ධ කාලයේදී ඉංග්‍රීසි ආණ්ඩුවට එදිරිව නිදහස් ලේබර් පක්ෂය ගෙනගිය නිර්භීත සටනට අපි මහත්සේ ගරු කරමු. එහෙත් එම පක්ෂය මාක්ස්වාදී පදනමක් මත නොසිටිය බව අපි දනිමු. වත්මන් අවදියේ විරුද්ධ පාක්ෂික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ප්‍රධාන කාරිය භාරය විප්ලවවාදී මාක්ස්වාදයේ ධජය එසවීමය; අධිරාජ්‍යවාදී යුද්ධය කෙරෙහි අප දක්වන ප්‍රතිපත්තිය ස්ථිර ලෙසත් නියත ලෙසත් කම්කරුවන්ට කියාදීමය; ඔහු ජනතා විප්ලවවාදී ක්‍රියාකාරීත්වය සඳහා ආයාචනා කිරීමය, එනම් අධිරාජ්‍යවාදී යුද්ධ කාලපරිච්ඡෙදය සිවිල් (ජනතා) යුද්ධ පටන්ගැනීමේ යුගයකට පරිවර්තනය කිරීමය.

කෙසේවූවද විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කොටස් බොහෝ රටවල සිටිති. ජර්මනිය, රුසියාව, ස්කැන්ඩිනේවියාව (බලගතු කොටස හොග්ලූන්ඩ් සහෝදරයා විසින් නියෝජනය කරනුලැබේ). බෝල්කන් (බල්ගෙරියාවේ ''තෙස්න්යාක්''[36] පක්ෂය,) ඉතාලිය සහ එංගලන්තය (බ්‍රිතාන්‍ය සෝෂලිස්ට් පක්ෂයේ[37] කොටසක්), ප්‍රංශය (අන්තර්ජාතිකවාදීන් විරුද්ධත්වය ප්‍රකාශකොට ලියුම් එවූ නමුදු ඒවා පළනොකළ බව වේල්යාන් ''L'Humanité''[38] පුවත්පත මගින් පිළිගත්තේය), ඕලන්දයේ (ට්‍රිබියුනිස්ට්වරු[39]) ආදී රටවල ඔවුන් සොයාගත හැකිය. පටන් ගැනීමේදී කොතරම් අඩු සංඛ්‍යාවක් සිටියද, මේ මාක්ස්වාදීන් එක්රැස්කර, නියම මාක්ස්වාදයේ අමතකවූ ප්‍රතිපත්ති, ඔවුන්ගේ නාමයෙන් මතක්කරදී, අන්තජාතිවාදීන්ගෙන් වෙන්වී, ලෝකයේ සියළුම රටවල කම්කරුවන් මාක්ස්වාදයේ පැරණි ධජය යටතේ එක්රැස්විය යුතුයැයි ආයාචනය කිරීම කළ යුතුය. අපේ හදිසි කාරිය භාරය මෙයවේ.



''ක්‍රියාකාරී'' යැයි කියාගන්නා වැඩපිළිවෙලවල් සමග මෙතෙක් ඇතිකරගන්නාලද සාකච්ඡා අඩුවැඩි වශයෙන් සීමාවූයේ හුදු ශාන්තිවාදී වැඩපිළිවෙලකට පමණකි. මාක්ස්වාදය යනු ශාන්තිවාදය නොවේ. ඇත්තෙන්ම යුද්ධය වහාම නැවැත්වීම සඳහා සටන්කිරීම අත්‍යාවශ්‍යයය. ''සාමය'' ඉල්ලාසිටීම නිර්ධන පංති වැදගත් කමක් ගෙනදෙන්නේ විප්ලවවාදී අරගලයන් සඳහා ආයාචනා කිරීමෙන් පමණකි. විප්ලව කීපයකින් තොරවූ ප්‍රජාතන්ත්‍රවාදී සාමය පිලිස්ටීන්වාදී මනෝරාජ්‍යයක් පමණකි. සිදුවූදෙය ගැන සම්පූර්ණ හා පැහැදිලි විස්තරයක් මහජනතාවට ඉදිරිපත් කරන අධිරාජ්‍යවාදය කුමක්ද යන්නත් එයට එදිරිව සටන් කරන්නේ කෙසේද යන්න එසේම අවස්ථාවාදය නිසා දෙවැනි අන්තර්ජාතිකය බිඳවැටුණු බව ප්‍රකාශකරන්නාවූත් මාක්ස්වාදී වැඩපිළිවෙලකින් සහ අවස්ථාවාදීන්ට විරුද්ධව සහ ඔවුන්ගෙන් තොරව මාක්ස්වාදී අන්තර්ජාතිකයක් ගොඩනැගීම සඳහා ආයාචනා කරන වැඩපිළිවෙලක් පමණක් නියම ක්‍රියාකාරී වැඩපිළිවෙලක් වනු ඇත. නියම නිර්ධන පංති සහයෝගිතාවය අපට දිනාගත හැකිවන්නේ අප අප කෙරෙහි හා මාක්ස්වාදය කෙරෙහිත් විශ්වාසය තබන, අවස්ථාවාදයට එදිරිව, අවසානය දක්වා සටන් කිරීමට කැපවුණු. වැඩපිළිවෙලක් මගින් පමණකි.

## රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය හා තෙවැනි අන්තර්ජාතිකය

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය තම අවස්ථාවාදීන් ගෙන් වෙන්වී බොහෝ කල්ය. රුසියානු අවස්ථාවාදීහු දැන් අන්තජාතිවාදීන් බවට පත්වී සිටිති. සමාජවාදයේ යහපත සඳහා ඔවුන්ගෙන් වෙන්වීම අත්‍යාවශ්‍යය යන හැඟීම මෙයින් වඩාත් තහවුරු වෙයි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් සහ සමාජ-අන්තජාතිවාදීන් අතර වෙනස, අරාජිකවාදීන්ගෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කැඩීයාමට තුඩුදුන් වෙනසට වඩා අඩු වැදගත්කමක් නොදරන බව අපගේ දැඩි විශ්වාසයයි. අද පවතින සමගිය අවස්ථාවාදීන්ගේ හා ධනපතීන්ගේ වාසිය පිණිස වන්නේයැයි Preußische Jahrbücher සඟරාවට[40] ලිපියක් සැපයූ අවස්ථාවේදී Monitor නිවැරදිලෙස පෙන්වා දුන්නේය. මන්දයත්, ඒ සමගිය නිසා වාමාංශිකයින්ට අවස්ථාවාදීන්ගේ බලයට යටවීමට සිදුවී තිබෙනවත්හැර, ඇතිවී තිබෙන මතභේදය අවබෝධකර ගැනීමට සහ නියම කම්කරු පංති සහ නියම සමාජවාදී පක්ෂයක් පිහිටුවා ගැනීමට

කම්කරුවන්ට එය බාධාවක්ව තිබෙන බැවිනි. කහ වෘත්තීය සමිති[41] හා සෙමිටික් විරෝධී, ලිබරල්වාදී කම්කරු සමිති ආදී සංවිධානයන්ගෙන් කැඩීයාම, නොදියුණු කම්කරුවන්ගේ දියුණුව සඳහාත්, ඔවුන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදි පක්ෂයේ සාමාජිකයින් කරවීම සඳහාත්, අත්‍යාවශ්‍ය වූවාක් මෙන්ම අවස්ථාවාදීන්ගෙන් හා අන්තජාතිවාදීන්ගෙන් කැඩීයාම අද පවතින තත්ත්වය අනුව හැම විප්ලවවාදියෙකුගේම ප්‍රධාන යුතුකම බව අපගේ දැඩි විශ්වාසය වේ.

අපේ අදහස අනුව තුන්වැනි අන්තර්ජාතිකය එවැනි විප්ලවවාදී පදනමක් මත පිහිටවිය යුතුය. සමාජ-අන්තජාතිවාදීන්ගෙන් වෙන්වීයාමේ ප්‍රයෝජනය පිළිබඳ ප්‍රශ්නය අප පක්ෂය ඉදිරියේ නැත. එය ස්ථිරලෙසම විසඳා හමාරය. මේ කැඩීයාම අන්තර්ජාතික පරිමාණයක් අනුව නුදුරු අනාගතයේදීම කළහැකිද යන පැනය පමණකි, අප පක්ෂය ඉදිරියේ තිබෙනුයේ.

අන්තර්ජාතික මාක්ස්වාදී සංවිධානයක් ගොඩනැගීමට නම්, විවිධ රටවල මාක්ස්වාදී ස්වාධීන පක්ෂ ගොඩනැගීමේ සූදානමක් තිබිය යුතුය යන්න කිවයුතු නොවේ. ඉතාම පැරණි හා ශක්තිමත් කම්කරු පංති ව්‍යාපාරයක් ඇති ජර්මනිය තීරණාත්මක වැදගත්කමක් දරයි. මාක්ස්වාදී අළුත් අන්තර්ජාතිකයක් සෑදීමට තරම් තත්ත්වය හා කොන්දේසි මෝරාතිබේද යන්න නුදුරු අනාගතය පෙන්වාදෙනු ඇත. අවස්ථාවාදයෙන් හා අන්තජාතිවාදයෙන් ශුද්ධවූ එවැනි තෙවැනි අන්තර්ජාතිකයට අපේ පක්ෂය මහත්වූ ආසාවකින් බැඳෙනු ඇත. එවැන්නක් නැතිනම්, එවැනි ශුද්ධකිරීමක් සඳහා අඩුවැඩි වශයෙන් දීර්ඝ පරිණාමයක් සිදුවිය යුතුය. විවිධ රටවල පවතින තත්ත්වයන් අනුව මාක්ස්වාදී විප්ලවීය පදනමක් මත ජාත්‍යන්තර කම්කරු සංවිධානයක් ගොඩනැගීමට හැකිවන තෙක්, අප පක්ෂය පැරණි අන්තර්ජාතිකය තුළ උග්‍ර විපක්ෂය ලෙස කටයුතු කරනු ඇත.

ලෝක තත්ත්වය ලබන අවුරුදු කීපය තුළදී මොන විධියට වර්ධනය වන්නේදැයි කීමට අපට බැරිවාක් මෙන්ම, එය දැනගැනීමටද නොපුළුවන. එහෙත් අප පක්ෂය ඉහත සටහන් මාවත ඔස්සේ යැමත්, අපේ රටතුළ හා අපේ නිර්ධන පංතිය අතර එදිනෙද වැඩකටයුතු තුළින් මාක්ස්වාදී අන්තර්ජාතිකයේ රුසියානු කොටස සෑදීමත් උදෙසා නොසැලී වැඩකරන බව අපි ස්ථිර ලෙස දනිමු.

රුසියාව තුළ සමාජ-අන්තජාතිවාදීන්ගෙන් හා "මධ්‍යස්ථයේ" කණ්ඩායම්ගෙන් අඩුවක් නම් නැත. මාක්ස්වාදී අන්තර්ජාතිකයක් සෑදීමට එදිරිව මොවුන් සටන්කරනු ඇත. ප්ලෙඛානොව් දැනටමත් ස්යුදෙකුම්ගේ මතයට මූලික වශයෙන් එකඟවී තිබෙන අතර ඔහුට අත දිගුකර සිටින බව අපි දනිමු. ඇක්සල්රොඩ්ගේ නායකත්වයෙන්යුත් ඊනියා "සංවිධායක කමිටුව[42]" රුසියාව තුළ කෞට්ස්කිවාදය දේශනාකරන බව අපි දනිමු. කම්කරු පංතියේ සමගියේ නාමයෙන් අවස්ථාවාදීන් සමග සමගිය ඉල්ලා සිටින මොව්හු, එමගින් ධනපතීන් සමගද සමගිය පතති. රුසියාවේ වත්මන් කම්කරු ව්‍යාපාරය ගැන, අප දන්නා කරුණු අනුව පෙරමෙන්ම පංති හැඟීමෙන් යුත් නිර්ධන පංතිය, අපේ පක්ෂය සමග නවතිනු ඇතැයි දැඩි විශ්වාසයකින් යුතුව අපට කිවහැකිය.

## 4 වැනි පරිච්ඡේදය

## කැඩීයාමේ ඉතිහාසය සහ රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වත්මන් තත්ත්වය

යුද්ධය කෙරෙහි රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය දක්වන පෙර සඳහන් උපක්‍රම වූකලී දීර්ඝ කාලයක් තිස්සේ රුසියාවේ ඇතිවූ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වැළැක්විය නොහැකි ප්‍රතිඵලයකි. අපේ පක්ෂයේ ඉතිහාසය දෙස ගැඹුරු ලෙස බලන්නේ නැතිව, එම උපක්‍රම ගැනත්, අප රටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ වත්මන් තත්ත්වය ගැනත්, නිවැරදිලෙස අවබෝධ කරගත නොහැක. එම ඉතිහාසයේ ප්‍රධාන කරුණු මෙහිලා අප පාඨකයා හමුවේ තැබිය යුත්තේ ඒ නිසාය.

දෘෂ්ටිමය ප්‍රවනතාවයක් වශයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය පැන නැංගේ 1883 දීය. සමාජ ප්‍රජාතන්ත්‍රවාදී අදහස් රුසියාවේ තත්ත්වයට යෝග්‍යවනසේ ක්‍රියාවට යොදවන්නේ කෙසේද යන්න ගැන "කම්කරු විමුක්ති කණ්ඩායම"[43] විසින් විදෙශයන්හිදී ක්‍රමානුකූලව කරුණු ඉදිරිපත් කරන ලද්දේ ඒ කාලයේදීය. දහ නව වැනි සියවසේ නවවැනි දශකයේ ආරම්භය තෙක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මත රුසියාවේ පැතිරගියේ කම්කරු පංති ව්‍යාපාරය සමග සබඳකම් නැතිවය. 1890 ආරම්භයේදී ජනතා අවබෝධයේ වර්ධනයක් ඇතිවීමත්, සමගම කම්කරුවන් අතර නොසන් සුන්භාවයක් හා වැඩ වර්ජන ව්‍යාපාරයක් ඇතිවීමෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය කම්කරු පංතියේ (ආර්ථික මෙන්ම දේශපාලන) අරගලයන්ට අඛණ්ඩව සම්බන්ධිත ක්‍රියාකාරී දේශපාලනමය

බලවේගයක් බවට පත්විය. ඒ කාලයේ සිටමය සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරය තුළ ''ආර්ථිකවාදීන්'' සහ ''ඉස්ක්‍රාවාදීන්'' වශයෙන් හෙදවීම ආරම්භවූයේ.

## ''ආර්ථිකවාදීන්'' හා පැරණි ''ඉස්ක්‍රාව'' (1894-1903)

''ආර්ථිකවාදය'' රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ප්‍රවනතාවයකි. එහි දෙශපාලන හරය වැඩපිළිවෙළේ සම්පිණ්ඩනය කර ඇත්තේ මෙසේය: ''කම්කරුවන්ට ආර්ථික සටන; ලිබරල්වාදීනට දෙශපාලන සටන'' එහි ප්‍රධාන දෙශපාලන පදනමවූයේ ඊනියා ''නීත්‍යානුකූල මාක්ස්වාදය'' හෙවත් ස්ට්රුවිවාදයයි. එයින් ''පිළිගනු ලැබූයේ'' විප්ලවවාදී ජීවයෙන් සම්පූර්ණයෙන්ම ඇත්වූ ලිබරල්වාදී ධනපතීන්ගේ වුවමනාවන් සපුරාලීම සඳහා උපයෝගී කරගත් ''මාක්ස්වාදයක්''ය. රුසියානු කම්කරු ජනතාවගේ නොදියුණුබව හුවාදක්වමින්, ''බහු ජනතාව සමග ගමන් කිරීමට'' ආශා කරමින්, ''ආර්ථිකවාදීහු'' කම්කරු පංති ව්‍යාපාරයේ කාර්යයන් හා අරමුණු ආර්ථික සටන්වලටත්, දෙශපාලන වශයෙන් ලිබරල්වාදීන්ට ආධාර දීමටත් සීමා කළහ. ස්වාධීනවූ දෙශපාලන හෝ විප්ලවවාදී හෝ කාර්යයන් ඔවුන් විසින්ම ඉදිරිපත් කර නැත.

පැරණි ''ඉස්ක්‍රාව''[44] (1900—1903) ''ආර්ථිකවාදයට'' එදිරිව, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ විප්ලවවාදී මූලධර්මයන් සඳහා ජයග්‍රාහී සටනක් ගෙනගියාය. පංති හැඟීමෙන්යුත් නිර්ධන පංතියේ ඉතාම හොඳ කොටස් ''ඉස්ක්‍රා''වේ පැත්ත ගත්හ. විප්ලවයට අවුරුදු කීපයකට පෙර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ස්ථිර සහ නොසැලෙන වැඩ පිළිවෙලක් ඉදිරිපත් කළහ. එම වැඩපිළිවෙලේ නිවැරදි භාවය පංති සටන්වලින් හා 1905 විප්ලවයේදී ජනතා සටන්වලින් ඔප්පුකරනලදි. ''ආර්ථිකවාදීහු'' ජනතාවගේ නොදියුණුබවට ගැලපෙන අයුරු තම වැඩකටයුතු පදනම් කළ අතර ''ඉස්ක්‍රාව'' ජනතාව ඉදිරියට ගෙනයාමෙහි සමත් කම්කරු පංතියේ පෙරමුණ බලඇණිය පුහුණු කරමින් සිටියාහ. සමාජ–අන්තජාතිවාදීන් විසින් අද ඉදිරිපත් කරනු ලබන සියළු තර්ක (එනම්, ජනතාව සැළකිල්ලට යොමුකිරීම; අධිරාජ්‍යවාදයේ ප්‍රගතිශීලිභාවය; විප්ලවවාදීන්ගේ ''මායා මතයන්'' ආදිය) ''ආර්ථිකවාදීන්'' විසින් ඊට පෙර ඉදිරිපත් කරනලද ඒවාය. රුසියන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විසින් අවස්ථාවාදීලෙස මාක්ස්වාදය ''ස්ට්රුවිවාදය''ට පත්කිරීම සඳහා ප්‍රථම උත්සාහයවූයේ මීට අවුරුදු විස්සකට ඉහතදීය.



## මෙන්ෂෙවික්වාදය හා බොල්ෂෙවික්වාදය (1903-1908)

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවීය කාලපරිච්ඡෙදය සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවනතා අතර නව අරගලයක් ඇති කළේය; මෙය පළමු අරගලය නොනවත්වා ගෙනයාමකි. ''ආර්ථිකවාදය'', ''මෙන්ෂෙවික් වාදය'' දක්වා වර්ධනයවිය. පැරණි ''ඉස්ක්‍රා'' විප්ලවවාදී උපක්‍රමයන් ආරක්ෂාකිරීමේ සටන තුළින් ''බොල්ෂෙවික්වාදය'' බිහිවුණි.

1905—1907 කලබලකාරී අවුරුදුවලදී ලිබරල්වාදී–ධනපතීන්ගේ ආධාරය ලැබූ මෙන්ෂෙවික්වාදය කම්කරු ව්‍යාපාරයේ අවස්ථාවාදී ප්‍රවනතාවයක්විය. මෙන්ෂෙවික්වාදය ලිබරල්වාදී–ධනපති නැඹුරුවීම් කම්කරු පංති ව්‍යාපාරය තුළට ගෙන ආවේය කම්කරු පංති අරගලය ලිබරල්වාදයට ගැල පෙන සේ යොදගැනීම එහි හරය විය. මේ අතර බොල්ෂෙවික්වාදය ලිබරල්වාදීන්ගේ වැනෙන සුළු භාවය හා පාවාදීම් නොතකා ප්‍රජාතන්ත්‍රවාදී ගොවීන් විප්ලවවාදී අරගලයට පෙළඹවීමේ කාර්යභාරය සඳහා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවන් සකස් කළේය. නොඑක් අවස්ථාවලදී මෙන්ෂෙවික්වාදීන් විසින්ම පිළිගෙන ඇති පරිදි විප්ලවයේ ඉතා වැදගත් කාර්යයන්හිදි කම්කරු ජනතාව බොල්ෂෙවික් නායකත්වය පිළිගත්හ.

රුසියාවේ නොසැලෙන විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රමයන් 1905විප්ලවයේදී සංවර්ධනය කොට, පරීක්ෂණයට භාජනකොට, ස්ථිරලෙස පත්නරය ලබා තිබේ. පංතීන්ගේ හා පක්ෂවල සෘජු ක්‍රියාකාරීත්වය නිසා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අවස්ථාවාදය (''මෙන්ෂෙවික්වාදය'') හා ලිබරල්වාදය අතරවූ සබඳකම් නැවත නැවතත් හෙළිදරව්වීය.

## මාක්ස්වාදය හා ලික්විඩේටර්වාදය (1908-1914)

සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විප්ලවවාදී හා අවස්ථාවාදී උපක්‍රම පිළිබඳ ප්‍රශ්නය, මෙවර හාත්පසින්ම අළුත් මුහුණුවරකින්, ප්‍රතිවිප්ලවවාදී කාල පරිච්ඡෙදය තුළදී යළිත් මතුවිය. මෙන්ෂෙවික්වාදයේ ප්‍රධාන බලවේගය, තමන්ගේ ඉතාම හොඳ නියෝජිතයින්ගේ විරුද්ධත්වය නොතකා ලික්විඩේටර්වාදී ප්‍රවනතාවයක් ඉදිරිපත් කරමින්, රුසියාවේ තවත් විප්ලවයක් සඳහාවූ සටන අතහැර දැම්මේය, නීතිවිරෝධී සංවිධාන හා කටයුතු ප්‍රතික්ෂේප කළේය, ''නීතිවිරෝධී වැඩ'' හා ජනරජයක් සඳහාවූ උද්යෝග පාඨය ආදිය අවමානයට ළක් කළේය. විප්ලවවාදී සටන්

අරගලවලින් කම්කරුවන් ඉවතට ගෙනයනුවස් ක්‍රියාකරන රුසියානු ලිබරල් ධනපති පංතිය විසින් විවිධ මාර්ගවලින් ආධාරය හා ප්‍රචාරයද පෝෂණයද කරන ලද්දවූ පැරණි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයෙන් බැහැරව ''නාෂ සර්යා'' සඟරාවේ නීත්‍යානුකූල ලිපි සපයන්නෝ (පොත්රේසොව්, වෙරෙවානින් සහ සෙසු අය) කංඩායමක් සැදූහ.

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ 1912 ජනවාරි සමුළුව[45] මගින් මේ අවස්ථාවාදී කණ්ඩායම නෙරපා දමා විදේශයන්හි වූ ලොකු සහ කුඩා කණ්ඩායම්වල බලවත් විරුද්ධතා මධ්‍යයේ පක්ෂය ප්‍රකෘතිමත් කරනලදී. අවුරුදු දෙකකට වැඩි කාලයක් තිස්සේ (1912 මුල සිට 1914 මැද භාගය දක්වා) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ දෙක අතර, 1912 ජනවාරි මස තෝරාපත් කරගත් මධ්‍යම කාරක සභාව සහ ''නාෂ සර්යා'' කණ්ඩායම සමග සමගිය ඇතිකරගනිමින්, ජනවාරි සාකච්ඡාව පිළිනොගෙන, පක්ෂය වෙනත් විධියකට ප්‍රකෘතිමත් කිරීමට ඉදිරිපත්වූ ''සංවිධාන කමිටුව'' අතර දැඩි අරගලයක් පැවතුනි. කම්කරු පංතියේ දිනපතා පුවත්පත් දෙක (''ප්‍රව්ඩා''[46] සහ ''ලූච්''[47] ඒවායින් පසු පළවූ දිනපතා පුවත්පත්) අතරද IV වැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ (රු.ස.ප්‍ර.ක.ප. — ප්‍රව්ඩාවාදී මාක්ස්වාදීන් සහ චෙහීඩ්සේගේ නායකත්වයෙන් යුත් ලික්විඩේටර් වරුන්ගේ ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කඩණ්ඩායම'' අතර) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කාණ්ඩ දෙක අතරද දැඩි අරගලයක් පැන නැගුනි.

පක්ෂයේ විප්ලවවාදී මූලධර්මයන්ට පක්ෂපාතව සටන්කළ ''ප්‍රව්ඩාවාදීහු'' කම්කරු පංති ව්‍යාපාරයට නවජීවනයක් ගෙනඑම සඳහා ආධාර කරමින් (විශෙෂයෙන්ම 1912 වසන්තයෙන් පසු), නීත්‍යානුකූල සහ නීතිවිරෝධී සංවිධාන, පුවත්පත් හා උද්ඝොෂණ ව්‍යාපාරයන් ඒකාබද්ධකොට පංති හැඟීමෙන් යුත් කම්කරුවන්ගේ බහුතර කොටස තමන් වටා ඒකරාශීකළහ. එහෙත්, ''නාෂ සර්යා'' කණ්ඩායම මාර්ගයෙන් විශෙෂ දෙශපාලන බලවේගයක් මෙන් ක්‍රියාකළ ලික්විඩේටර්වරු ලිබරල් වාදී ධනපති කොටස්වල සම්පූර්ණ ආධාරය බලාපොරොත්තුවූහ.

ඒ කාලයේ රුසියාවේ පැවති තත්ත්වය අනුව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජික මුදල් ගෙවියහැකි ක්‍රමයක්වූ (නීත්‍යානුකූල සහ මහජනයාට ලෙහෙසියෙන් සොයාබැලිය හැකි එකම ක්‍රමය), පක්ෂ දෙකේ පුවත්පත්වලට කම්කරු කණ්ඩායම් මගින් ගෙවනු ලැබූ ආධාර සහ දයකමුදල් ''ප්‍රව්ඩාවාදීන්ගේ'' (මාක්ස්වාදීන්ගේ) ශක්තියේ හා ජනප්‍රිය



භාවයේ නිර්ධන පංති පදනමත් ලික්විඩේටර්වරුන්ගේ (සහ ඔවුන්ගේ සංවිධාන කමිටුවේ) ලිබරල්වාදී ධනපති පදනමත් මොනවට තහවුරුවිය. ''මාක්ස්වාදය සහ ලික්විඩේටර්වාදය''[48] නැමති පොත් සම්පූර්ණ වශයෙන්ද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ''ලීප්සිග් ජනතා පුවත්පතෙහි''[49] 1914 ජූලි මස 21ද කෙටියෙන් පළවූ ආධාර හා දයක මුදල්ගැන සංඛ්‍යාලේඛණවල කෙටි විස්තරයක් මෙන්න.

1914 ජනවාරි 1 ද සිට මැයි 13 ද දක්වා කාලය තුලදී මාක්ස්වාදී (ප්‍රව්ඩාවාදී) සහ ලික්විඩේටර්වාදී පීටර්බුර්ග්හි දිනපතා පුවත්පත්වලට දෙනලද ආධාර හා දයක මුදල්:

| | ප්‍රව්ඩාවාදීන් ආධාර–දයකමුදල් | | ලික්විඩේටර්වරුන් ආධාර-දයකමුදල් | |
|---|---|---|---|---|
| | සංඛ්‍යාව | රූබල් | සංඛ්‍යාව | රූබල් |
| කම්කරු කංඩායම් වලින් . . . . . | 2873 | 18,934 | 671 | 5,296 |
| කම්කරු නොවන කංඩායම් වලින් . . . . . . . | 713 | 2,650 | 453 | 6,760 |

ඒ අනුව, 1914 වනවිට අපේ පක්ෂය රුසියාවේ පංති හැඟීමෙන් යුත් කම්කරුවන්ගෙන් පහෙන් හතර පංගුවක් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රම වටා ඒකාරාශී කරතිබුණි. 1913 තුලදී කම්කරු කණ්ඩායම් 2,181 ක් විසින් ''ප්‍රව්ඩාවාදීන්ට'' දයක මුදල් ගෙවා තිබූ අතර ලික්විඩේටර්වරුන්ට එවැනි කණ්ඩායම් 661 න් ආධාර මුදල් ලැබුණි. 1913 ජනවාරි 1ද සිට 1914 මැයි 13 ද දක්වා (අපේ පක්ෂයට) ''ප්‍රව්ඩාවාදීන්ට'' ගෙවූ ගණන 5,054 කි. ලික්විඩේටර්වරුන්ට ගෙවා තිබෙන ගණන 1,332 හෙවත් සියයට 20,8 කි.

## මාක්ස්වාදය හා සමාජ-අන්තජාතිවාදය (1914-1915)

1914—1915 මහා යුද්ධය විසින් සියළුම යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ටද, එසේම රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ටද ලෝක පරිමාණයෙන් වන්නාවූ මහා අර්බුදයකදී තම උපක්‍රම අත්හද බැලීමකට ගොදුරු කිරීමට අවස්ථාව දෙන ලදී. වහල් හිමියන් අතර කරන මේ යුද්ධයේ ප්‍රතිගාමී, මංකොල්ලකාරී ස්වරූපය අනෙක් ආණ්ඩුවලට වඩා

සාර්වාදය අනුව වඩාත් පැහැදිලි ලෙස කැපී පෙනේ. එහෙත් ලික්විඩේටර් වරුන්ගේ ප්‍රධාන කණ්ඩායම (අපේ කණ්ඩායම හැරණුවිට, තම ලිබරල්වාදී සබඳකම්වලට පිංසිදුවන්ට, රුසියාවේ සැහෙනලෙස බලපාන එකම කණ්ඩායම) සමාජ–අන්තජාතිවාදය දෙසට හැරී තිබේ! තම දීර්ඝකාලීන නීත්‍යානුකූල ඒකාධිකාරීත්වය ප්‍රයෝජනයට ගනිමින් ''නාෂ සර්යා'' කණ්ඩායම ''යුද්ධයට විරුද්ධ නොවීමේ'' සහ රටවල් තුනේ (දූත් රටවල් හතරේ) ගිවිසුමට ජය පැතීමේත්, ජර්මන් අධිරාජ්‍යවාදයේ ''අතිවිශෙෂ පව් ගැන'' චෝදනා කිරීමේත් ප්‍රචාරයන් ගෙනගියේය. 1903 සිට දෙශපාලනමය පිටිකොන්ද රහිතබව හා අවස්ථාවාදය වෙත ප්ලෙඛානොව් පළායාම පිළිබඳ නිදර්ශන පෙන්වූ රුසියාවේ ධනපති පුවත්පත්වල ප්‍රසංශාව දිනාගනිමින්) වඩාත් දූඩි අන්තවාදී තත්ත්වයක් ගෙන සිටී. සාර්වාදය විසින් කරගෙන යන යුද්ධය සාධාරණයැයි කීමට හා ඉතාලිය යුද්ධයට සහභාගි වියයුතුයැයි එරට ආණ්ඩුවේ පුවත්පත්වලට සම්මුඛ ප්‍රකාශනයන් කිරීමට තරම් දේශපාලන අතින් ප්‍රපාතයට ප්ලෙඛානොව් වැටී සිටී!!

ලික්විඩේටර්වාදය නියමලෙස අප විසින් තක්සේරුකරන ලද අතර ලික්විඩේටර්වරුන්ගේ ප්‍රධාන කණ්ඩායම අප පක්ෂයෙන් නෙරපා හැරීම සාධාරණයැයි සම්පූර්ණයෙන්ම තහවුරු කරනලදී. ලික්විඩේටර්වරුන්ගේ නියම වැඩපිළිවෙලේ සහ ඔවුන්ගේ ප්‍රවණතාවයේ නියම වැදගත්කම රඳා තිබෙනුයේ පොදු අවස්ථාවාදය මත පමණක් නොවේ, මහා රුසියානු ඉඩම් හිමියන්ගේ සහ ධනපතීන්ගේ මහා ජාතිවාදී වරප්‍රසාදයන් හ අයිතිවාසිකම් ආරක්ෂාකිරීම උඩය. ලික්විඩේටර්වාදය ජාතික–ලිබරල්වාදී කම්කරු ප්‍රතිපත්තියකි. එය රැඩිකල් සුළු ධනපති කොටසක් හා වරප්‍රසාද ලත් කම්කරු ඉතා සුළු කොටසක් විසින් නිර්ධන පංති බහු ජනතාවට විරුද්ධව ''තමන්ගේම'' ජාතික ධනපති පංතිය සමග ගිවිසගත් හවුලකි.

## රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සාමාජිකත්වය තුළ පවතින තත්ත්වය

මීට ඉහත කී පරිදි, අපේ 1912 ජනවාරි සමුළුව ලික්විඩේටර්වරුන්, විදේශයන්හි සිටින කණ්ඩායම් කීපයක් (ප්ලෙඛානොව්ගේ, අලෙක්සින්කිගේ, ට්‍රොට්ස්කිගේ ආදී) සහ ''ජාතික'' යැයි කියාගන්නා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් (මහා රුසියානු නොවන) විසින් පිළිනොගන්නාලදී. අපට එදිරිව කරනලද සංඛ්‍යාරහිත දෝෂාරෝපණයන් අතර ''අයුතුලෙස බලතල පැහැර ගැනීමේ'' සහ ''කඩා කප්පල් කිරීමේ'' චෝදනාවන්ද නිතර එල්ලකරනලදී. අපේ පක්ෂය පංති හැඟීම ඇති රුසියානු කම්කරුවන්ගෙන් පහෙන් කොටස් හතරක්ම සමගිකොට තිබෙන බව ඔප්පුකිරීමට තාත්විකලෙස සොයාබැලියහැකි සංඛ්‍යාලේඛණ පෙන්වමින්, අපි පිළිතුරු දුන්නෙමු. ප්‍රති විප්ලවවාදී කාලපරිච්ඡේදයක් තුලදී නීතිවිරෝධීලෙස වැඩකටයුතු කිරීමේ අමාරුකම් සලකාබලන විට මෙය සුළු සංඛ්‍යාවක් නොවේ.

''නාෂ සර්යා'' කණ්ඩායම නෙරපාදමන්නේ නැතිව, රුසියාව තුළ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රම පදනම්කොටගෙන සමගිය රැකීමට පුළුවන්වී නම්, අපේ විරුද්ධවාදීන් තමන් අතර පවා සමගියක් ආරක්ෂා නොකළේ මන්ද? 1912 ජනවාරි සමුළුව අවසානවී අවුරුදු තුනහමාරක් ගතවී තිබේ. එහෙත් මේ කාලය තුලදී අපේ විරුද්ධකාරයින් කොතරම් කැමැත්තක් දක්වූවද,අපට එදිරිව සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයක් සෑදීමට ඔවුන්ට බැරිවී තිබේ. අපේ පක්ෂයේ ආරක්ෂාවට ඉදිරිපත්කළ හැකි හොඳම සාධකය මෙයයි.

අපේ පක්ෂයට එදිරිව සටන් කරන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම්වල ඉතිහාසය කඩාවැටීමේ හා දියවීයාමේ ඉතිහාසය වේ අපට බැණවැදීම පිණිස 1912 මාර්තුවලදී මේ අය හැමදෙනාම ''සමගිවූහ''. එහෙත් 1912දී අගෝස්තුවලදී අපට එදිරිව ''අගෝස්තු හවුල''[50] නමින් සංවිධානයක් සාදගත්විට, ඔවුනතර එය දියවීයාම පටන්ගත්හ. සමහර කණ්ඩායම් එය අතහැරුමා ගියෝය. ඔවුන්ට පක්ෂයක් හෝ මධ්‍යම කාරක සභාවක් හෝ සෑදීමට බැරිවිය. ''සමගිය ඇතිකිරීම සඳහා'' සංවිධායක කමිටුවක් පමණකි ඔවුන්ට සෑදීමට පුළුවන්වූයේ. ඇත්තෙන්ම මේ සංවිධායක කමිටුවට රුසියාවේ ලික්විඩේටර්වරුන් ආරක්ෂාකළ නොහැකිබව ඔප්පුවුණි. රුසියාවේ කම්කරු ව්‍යාපාරයේ අතිවිශාල නැගිටීමක් හා වැඩනැවැත්වීම් ඇතිවූ 1912—1914 කාලයේදී ''අගෝස්තු සමූහයට'' අයත් කණ්ඩායම්වලින් පොදු ජනතාව අතර වැඩකළ එකම කණ්ඩායම හැටියට ඉතිරිවූයේ ''නාෂ සර්යා'' පමණකි. එහි ශක්තිය රඳා පැවැතියේ ලිබරල්වාදී සබඳකම් උඩය. 1914 මුල්භාගයේදී ලැට්වියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ''අගෝස්තු හවුලෙන්'' ඉල්ලා අස්විය (පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් එයට බැඳුනේ නැත). එම සමූහයේ එක් නායකයෙකු වන ට්‍රොට්ස්කි නොදන්වාම එයින් අස්විගොස් තමන්ගේ වෙනම කණ්ඩායමක් සෑදුවේය. 1914 ජූලි මාසයේදී පවත්වනලද බ්‍රසල්ස් සාකච්ඡාවේදී අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ කාර්‍යාධිකාරී කමිටුව,

කෞට්ස්කිගේ හා වැන්ඩර්වෙල්ඩේගේ සහභාගීත්වයෙන් අපට එදිරිව ''බ්‍රසල්ස් හවුල''[51] යැයි කියනු ලබන සංවිධානයක් සැදුවේය. මෙයට ලැට්වියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් බැඳුණේ නැත. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වහාම ඉන් අස්විය. යුද්ධය පටන්ගත් පසු මේ සමූහය කැඩීබිඳී ගියේය. ''නාෂා සර්යා'' කණ්ඩායම, ප්ලෙඛානොව්, අලෙක්සින්ස්කි, කොකෝසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායක ආන්[52] ජර්මනියේ පරාජය අපේක්ෂාකරමින් එළිපිටම සමාජ-අන්තජාතිවාදීන් බවට පත්වූහ. සංවිධාන කමිටුව සහ බුන්ඩ්[53] සමාජ–අන්තජාතිවාදයේ පදනම් සහ සමාජ–අන්තජාතිවාදීන් ආරක්ෂා කළාහ. චෙහීඩ්සෙගේ කණ්ඩායම යුද්ධ ණය මුදල් පණතට එදිරිව ඡන්දය දුන්නද (රුසියාවේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් එනම් තෘදවික්වරුන් පවා විරුද්ධව ඡන්දය දී තිබේ) ''නාෂ සර්යා'' කණ්ඩායමේ හිතවතුන් වශයෙන් රැඳුණි. සමාජ-අන්තජාතිවාදීන් අතුරෙන් උග්‍ර කණ්ඩායම වන ප්ලෙඛානොව්, අලෙක්සින්ස්කි සහ සමාගම චෙහීඩ්සෙගේ කණ්ඩායමේ වැඩ කෙරෙහි සතුට ප්‍රකාශකර සිටිහ. පැරිස්හි මාර්ටොව්ගේ හා ට්‍රොට්ස්කිගේ සහභාගිත්වයෙන් ''නාෂ ස්ලෝවො'' (ඉස්සර ''ගෝලොස්''[54]) පුවත්පත ආරම්භවිය. ''නාෂා සර්යා'' කණ්ඩායම, සංවිධාන කමිටුව සහ චෙහීඩ්සේගේ කණ්ඩායම සමග හෝ කොන්දේසි විරහිත සමගියක් ඉල්ලා සිටිමින් අන්තර්ජාතිකවාදය වචනයෙන් පමණක් ආරක්ෂා කිරීමට ඉදිරිපත්වූහ. එම පුවත්පතේ 250 වැනි අංකය දරන පිටපත නිකුත්කිරීමෙන් පසු තම දිරාපත්වීම ඔවුන්ටම පිළිගැනීමට සිදුවිය. කතු මඩුල්ලේ එක කොටසක් අප පක්ෂය වෙතට ලංවෙමින් සිටියහ. ''නාෂ ස්ලෝවො'' පුවත්පත ආරාජිකවාදීයැයි (හරියට ජර්මනියේ අවස්ථාවාදීන් වන ඩේවිඩ් සහ සමාගම ''Internationale Korrespondenz''[55], ලේගින් සහ සමාගම, ලිබ්ක්නෙක්ට් සහෝදරයා ආරාජික වාදීන්යැයි චෝදනා කරන්නාක් මෙනි ප්‍රසිද්ධියේ චෝදනාකළ සංවිධායක කමිටුවේ විශ්වාසදායකයා ලෙස මාර්ටොව් කටයුතු කළේය. ට්‍රොට්ස්කි සංවිධායක කමිටුව සමග හෙදවූ බව පැවසුමුත් චෙහීඩ්සෙ කණ්ඩායම සමග කටයුතු කළේය. චෙහීඩ්සෙ කණ්ඩායමේ එක් නායකයෙකු විසින් පෙන්වාදුන් පරිදි එම කණ්ඩායමේ වැඩපිළිවෙල හා උපක්‍රම මෙසේය: ප්ලෙඛානොව්ගේ හා අලෙක්සින්ස්කිගේ අදහස්වලට සමීපවූ ''සව්රිමේන්නි මීර්''[56] 1915 සහරාවේ අංක 5 දරන කලාපයේ චිහෙන්කේලී මෙසේ ලියයි: ''තම රට යුද්ධයට පටලැවීම නැවැත්වීමට තරම් තත්ත්වයක් ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට තිබුණේයැයිද, ඔවුන් එසේ නොකළේයැයිද කීම හරියට ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය



පමණක් නොව එහි පීතෘභූමියද කපොළුවල සිය අන්තිම හුස්ම හෙළනවා දකීමට ඇති ගුප්ත ආශාවකට සමානය. එසේති නැතිනම් ළඟ තිබෙන දේවල් දෙස අරාජිකවාදී දුරදක්නයකින් බැලීම වැනි ක්‍රියාවකි.''*

මේ පේළි කීපය තුළින් සමාජ-අන්තජාතිවාදයේ මුළු හරයම ප්‍රකාශවෙයි. එනම් මේ යුද්ධයේදී ''පීතෘභූමියේ ආරක්ෂාව'' නැමති අදහස මූලධර්ම වශයෙන් සාධාරණයැයි පෙන්වීම සහ පුවත්පත් පාලනය කරන යුද්ධ නිළධාරීන්ගේ අනුමැතිය ඇතිව විප්ලවය ප්‍රචාරය කිරීම හා ඒ සඳහා සූදානම් වීම ආදි මේ හැමදෙයක්ම සිනාවට පත්කිරීමකි. යුද්ධයට පටලැවීමට නැවැත්වීමට තරම් තත්ත්වයක ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය සිටියේද යන්න හෝ විප්ලවයේ ජයග්‍රහණය සහතික කිරීමට විප්ලවවාදීන්ට පුළුවන් කමක් තිබේද යන්න හෝ නොවේ ප්‍රශ්නය. සමාජවාදීන් නියමලෙස සමාජ-වාදීන්ලෙස හැසිරෙන්නේද නැතිනම් අධිරාජ්‍යවාදී ධනපතීන්ගේ ආලිංගනයට හසුවැ නියම වශයෙන්ම ''අන්තිම හුස්ම'' හෙළන්නේද යන්නය ඉදිරිපත්වී තිබෙන ප්‍රශ්නය.

## අපේ පක්ෂයේ කාර්ය භාරයන්

(1905) ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පෙර අප රටේ පැන නැගී රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය විප්ලවය හා ප්‍රතිවිප්ලවය තුළින් ශක්තිමත්විය. රුසියාවේ නොදියුණුබව අප රටේ විශෙෂ විවිධාකාර සුළුධනපති අවස්ථාවාදයට දෙස් දෙයි; යුරෝපයේ මාක්ස්වාදයේ බලපෑම සහ යුද්ධයට පෙර පැවති නීත්‍යානුකූල සමාජ-ප්‍රජාතන්ත්‍රවාදි පක්ෂවල ස්ථිරබව අපරටේ ලිබරල්වාදීන් ''බුද්ධිමත්'', ''යුරෝපීය'' (විප්ලවවාදී නොවන) ''නීත්‍යානුකූල'' ''මාක්ස්වාදී'' න්‍යායය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රසංශා මුඛයෙන් සළකන්නන් බවට පත්කරනලදී. අවස්ථාවාදයේ සියළු වර්ගවලට එදිරිව අවුරුදු තිහක් තිස්සේ දැඩි සටන් නොකොට රුසියාවේ කම්කරුවන්ට තම පක්ෂය ගොඩනැගිය

* ''සව්රිමේන්නි මීර්'' (නව ලෝකය) 1915 අංක 5, 148 පිටුව. අන්තර්ජාතිකය තුල චෙහීඩ්සේගේ කණ්ඩායමේ බලය උසස් කිරීම තම කාරිය යැයි ට්‍රොට්ස්කි මේ නොබෝද කීවේය. චිහෙන්කෙලි තමාගේ පැත්තෙන් අන්තර්ජාතිකය තුළ ට්‍රොට්ස්කිගේ බලය ඒ හා සමාන උනන්දුවකින් යුතුව උසස් කරනු ඇත . . .

නොහැකිවිය. යුරෝපීය අවස්ථාවාදයට ලජ්ජා සහගතලෙස විනාශය ලඟාකළ, ලෝක යුද්ධයේ අත්දැකීම් අපේ ජාතික-ලිබරල්වාදීන් සහ සමාජ-අන්තජාතිවාදී ලික්විඩේටර්වරුන් අතර මිත්‍රභවූල ශක්තිමත් කළේය. මේ අත්දැකීම තවදුරටත් අපේ පක්ෂය නොසැලී විප්ලවවාදී මඟ අනුගමනය කළ යුතුයැයි කියන අපේ හැඟීම ශක්තිමත් කර ඇත.

1915 ජූලි — අගෝස්තුවලදී ලියනලදී.
1915 අගෝස්තුවලදී පොත් පිංචක් වශයෙන්
ජිනීවාහි ''සමාජ–ප්‍රජාතන්ත්‍රවාදියා'' පුවත්පතෙහි
ප්‍රකාශකරනලදී.

## සටහන්

1. ''සමාජවාදය හා යුද්ධය (රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය (රු.ස.ප්‍ර.ක.ප.) යුද්ධය කෙරෙහි දක්වන ආකල්පය)'' නමැති මේ පොත් පිංච වී. අයි. ලෙනින් ලීවේ පළමුවැනි අන්තර්ජාතික සමාජවාදී සාකච්ඡාව සඳහා පිළියෙලවීමක් වශයෙනි. මේ පොත් පිංච ලිවීමට ජී.ඊ. සිනොවියෙව්ද සහභාගි විය. එහෙත් ප්‍රධාන කොටස ලියන ලද්දේ වි.අයි. ලෙනින් විසිනි. පොත් පිංච සකස් කිරීමද ඔහු සතුය.

''සමාජවාදය හා යුද්ධය, අප පක්ෂයේ යෝජනාවල ටීකාවක් හෙවත් ඒ යෝජනා ජනප්‍රිය ලෙස විස්තර කිරීමක් වැන්න යැ''යි ලෙනින් කීවේය. අන්තර්ජාතික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වාමාංශික කොටස් විප්ලවවාදී වේදිකාවක් මත ඒකරාශී කිරීම සඳහා සිමර්වෝල්ඩ්හි පවත්වනු ලබන අන්තර්ජාතික සමාජවාදී සාකච්ඡාව පාවිච්චි කිරීමට අදහස් කළ ලෙනින්, එම සාකච්ඡාව විවෘත කිරීමට ප්‍රථම පොත් පිංච මුද්‍රණය කොට අවසාන කිරීම සඳහා හැම උත්සාහයක්ම යෙදවීය.

සිමර්වෝල්ඩ් සාකච්ඡාව පටන් ගැනීමට ආසන්න දවස්වලදී ''සමාජවාදය හා යුද්ධය'' පොත් පිංචක් වශයෙන් රුසියන් හා ජර්මන් බසින් මුද්‍රණය කොට සාකච්ඡාවට සහභාගිවූවන්ට බෙදදෙනලදී. 1916 දී එය ප්‍රංශ භාෂාවෙන් මුද්‍රණය කරන ලදී.

2. බර්න්හි සාකච්ඡාව — රු.ස.ප්‍ර.ක. පක්ෂයේ විදෙශගත කොටස්වල සාකච්ඡාවවූ මෙය 1915 පෙබ්‍රවාරි 27 ද සිට මාර්තු 4 ද දක්වා බර්න්හි පවත්වනලදී. යුද්ධ කාලයේදී පොදු රුසියානු සාකච්ඡාවක් කැඳවීමට තරම් තත්ත්වයක් නොතිබුණු බැවින්, ලෙනින්ගේ මූලික උවමනාව අනුව කැඳවනලද මෙය බොල්ෂෙවික්

පොදු පාක්ෂික සාකච්ඡාවක වැදගත්කමක් දැරීය. පැරිස්, සූරික්, ජිනීවා, බර්න්, ලොසාන්, ලන්ඩන් නගරවල බොල්ෂෙවික් කණ්ඩායම් හා ''බොෂිස්ක්'' කණ්ඩායම වෙනුවෙන්ද නියෝජිතයින් සහභාගිවිය. මධ්‍යම කාරක සභාවේ සහ (''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා'') මධ්‍යම පුවත් පතේ නියෝජිතයා වශයෙන් ලෙනින් සාකච්ඡාවේ වැඩවලට නායකත්වයක් දුන්නේය. න්‍යාය පත්‍රයේ ප්‍රධාන මාතෘකාව වූ ''යුද්ධය හා පක්ෂයේ කාර්ය භාරයන්'' පිළිබඳ වාර්තාව ඔහු ඉදිරිපත් කළේය. යුද්ධය පිළිබඳ ලෙනින් විසින් කෙටුම්පත් කරනලද යෝජනාව සාකච්ඡාව විසින් සම්මතකරනලදී.

3. සිමර්වෝල්ඩ් වාමාංශික කණ්ඩායම. 1915 සැප්තැම්බර් මස සිමර්වෝල්ඩ්හි පවත්වනලද අන්තර්ජාතික සමාජවාදී සාකච්ඡාවේදී ලෙනින්ගේ මූලිකත්වයෙන් මේ කණ්ඩායම පිහිටුවනලදී. මේ සාකච්ඡාවේදී මධ්‍යස්ථවාදී බහුතර කොටසට එදිරිව සිමර්වෝල්ඩ් වාමාංශික කණ්ඩායම සටනක් ගෙනගියේය. අධිරාජ්‍යවාදී යුද්ධය හෙළාදකිමින්ද සමාජ-අන්තජාතිවාදීන්ගේ පාවාදීම් හෙළිකරමින් සහ යුද්ධයට එදිරිව ක්‍රියාශීලි ලෙස සටන් කළයුතුයැයි පෙන්වාදෙමින්ද කෙටුම්පත් යෝජනාවක් ඉදිරිපත් කරනලදී. සිමර්වෝල්ඩ්හි වාමාංශ කණ්ඩායම තුළ වැනෙන සුළු ජාත්‍යන්තරවාදියෝද වූහ. මේ වාමාංශික කණ්ඩායම තුළ එකම නිවැරදි මහ ගනිමින් අවසානය දක්වා ජාත්‍යන්තරවාදී තත්ත්වයක් දැරුවේ ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බොල්ෂෙවික්වරුන් පමණකි.

4. 1891 දී එර්ෆුට්හි පවත්වනලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සම්මේලනයේදී විල්හෙල්ම් කාර්ල් ලීබ්ක්නෙක්ට් කළ කතාව ගැනය, ලෙනින් සඳහන් කළේ.

5. ''යුද්ධය ගැන''ක්ලාවුසේවිස්ට් තම පොතින් සඳහන් කළ දේ ගැනය.

6. සිවු පාක්ෂික ගිවිසුම — එංගලන්තය, ප්‍රංශය රුසියාව හා ඉතාලිය යන අධිරාජ්‍යවාදී රටවල් හතරේ ගිවිසුමයි. ත්‍රෛපාක්ෂික ගිවිසුමේ (ජර්මනිය, ඔස්ට්‍රො-හංගෙරියාව, ඉතාලිය) සාමාජිකයෙකුව සිටි



ඉතාලිය 1915 දී ඉන් ඉවත්වී එංගලන්තය, ප්‍රංශය හා රුසියාව සමග ගිවිසුමට බැඳුනේය. මේ ත්‍රෛපාක්ෂික ගිවිසුම 1907 දී පිහිටුවනලදී.

7. දෙවැනි අන්තර්ජාතිකයේ බාසෙල් සම්මේලනය 1912 නොවැම්බර් 24—25 දිනවලදී පවත්වනලදී. බෝල්කන් රටවල් අතර යුද්ධය හා ළඟදී ඇතිවිය හැකි යුරෝපීය යුද්ධයක් පිළිබඳ ප්‍රශ්නය ගැන කතිකාකර ගැනීම පිණිස කැඳවනලදී. අනාගත ලෝක යුද්ධයේ අධිරාජ්‍යවාදී ස්වරූපය කෙරෙහි අවධානය යොමුකරන ප්‍රකාශයක් සම්මත කළ සම්මේලනය, ලෝකයේ සියළුම රටවල සමාජවාදීන් වෙත යුද්ධයට එදිරිව ක්‍රියාශීලි ලෙස සටන් කරන ලෙස ආයාචනයක් නිකුත් කළේය.

8. 1905 ඔක්තෝබර්-දෙසැම්බර් — 1905—1907 සමයේ විප්ලවීය ක්‍රියාකාරිත්වය අතිශයින්ම උත්සන්න වූ කාල යයි. සාර්ගේ අත්තනෝමතික පාලනය අවසන්කර දැමීම සඳහා සටන්කළ රුසියානු කම්කරුවෝ 1905 ඔක්තෝබරයේදී සමස්ත මහා දේශපාලන වැඩවර්ජනයක් ඇරඹූහ. රටේ සියළුම පැක්ටරිවල හා කම්හල්වල වැඩ නැවතුණි. දුම්රිය සේවකයෝද වැඩ නැවැත්වූහ. රුසියාවට ව්‍යවස්ථාවක් හා ජනතාවට කතාකිරීමේ, රැස්වීමේ සහ පුවත්පත් පළ කිරීමේ නිදහස ආදිය ''ප්‍රදානය'' කරන බවට පොරොන්දු වෙමින් ඔක්තෝබර් 17 ද ප්‍රකාශනයක් නිකුත් කිරීමට සාර්ට සිදුවිය. එහෙත් එය රැවටීමක් පමණකි. 1905 දෙසැම්බර් මාසයේදී මොස්කව්හි ආයුධ සන්නද්ධ නැගිටීමක් ඇතිවිය. කාල තුවක්කු සේනාංක සහ හමුදාවට විරුද්ධව මොස්කව්හි කම්කරුවෝ කපොලු සාදගෙන වීරෝදාරලෙස දින නවයක්ම සටන් කළහ. පෙත්රොග්‍රාඩයේ සිට අළුත් හමුදා ගෙනැවිත් සටනට යොදවන තෙක් සාර් ආණ්ඩුවට ජය ගත නොහැකිවිය.

9. දෙවැනි අන්තර්ජාතිකයේ ස්ටුට්ගාට් යෝජනාව ගැනය. 1907 අගෝස්තු 18—24 දිනවලදී දෙවැනි අන්තර්ජාතිකය ස්ටුට්ගාට් සම්මේලනය පවත්වන ලදී. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ නියෝජිතයින් 37 දෙනෙක් මේ සම්මේලනයට සහභාගි වූහ. බොල්ෂෙවික් නියෝජිතයින් අතර ලෙනින්, ලුනාචාර්ස්කි හා ලිට්වීනව් වූහ.

පූර්ණ රැස්වීමට ඉදිරිපත් කිරීම සඳහා යෝජනා කෙටුම්පත් කිරීමවස් පිහිටුවනු ලැබූ කමිටු මඟින් සම්මේලනයෙහි ප්‍රධාන වැඩ කටයුතු කෙරිත. "යුද්ධවාදය හා අන්තර්ජාතික ගැටුම්" නැමැති යෝජනාව සකස් කරන කමිටුවේ වැඩවලට ලෙනින් සහභාගිවිය. ජනතාව පුබුදුවා ධනපතිවාදය පෙරළා දැමීම සඳහා යුද්ධ කාලයෙහි තත්ත්වයන් ප්‍රයෝජනයට . ගැනීම සමාජවාදීන්ගේ යුතුකම බව පෙන්වන අතුරු යෝජනාවක් බෙබෙල්ගේ යෝජනාවට රෝසා ලුක්සම්බුර්ග් විසින් ඉදිරිපත් කරනලදී. සම්මේලනය මේ අතුරු යෝජනාව පිළිගත්තාය.

10. රයික්ස්ටාග්හි (ජර්මන් මන්ත්‍රී මණ්ඩලය) සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රී කණ්ඩායම දෙවැනි විල්හෙල්ම්ගේ ආණ්ඩුවට යුද්ධ ණය මුදල් ලබාදීමේ පණතට පක්ෂව 1914 අගෝස්තු 4 ද ඡන්දය දුන්නේය.

11. "මියයන සමාජවාදය හා පුනර්ජීවය ලත් සමාජවාදය" යන මැයෙන් දේශනයක් ප්‍රංශ සමාජවාදී පී.ගොලේ විසින් 1915 මාර්තු 11 ද ලොසානාහිදී කරනලදී. එම අවුරුද්දේම එය "Le socialisme qui meurt et le socialisme qui doit renaitre" නමින් පොත් පිංචක් ලෙස පළවිය.

12. ස්ට්‍රුවිවාදය ධනපති ආර්ථික විද්‍යාඥයෙකුවූද, ලේඛකයෙකුවූද, ධනපතිවාදී කැඩෙට් පක්ෂයේ නායකයෙකුවූද පී. බී. ස්ට්‍රුවේ (1870—1944) මේ වාදයේ ආදි කතෘවරයාය. දහනව වැනි සියවසේ අනූ ගණන්වලදී "නීත්‍යානුකූල මාක්ස්වාදයේ" ප්‍රධාන නියෝජිතයෙකුවූ මොහු, ධනපති උවමනාවන් අනුව, මාක්ස්වාදය කම්කරු පංති ව්‍යාපාරයට යෙදවීම පිණිස කාල් මාක්ස්ගේ ආර්ථික හා දර්ශනවාදී උගැන්වීම්වලට "එකතු කිරීම්" සහ "විවේචනයන්" ලීවේය.

13. බ්‍රෙන්ටානොවාදය—ජර්මන් ධනපති-ප්‍රතිසංස්කරණවාදී ආර්ථික විද්‍යාඥ එල්. බ්‍රෙන්ටානොගේ උගැන්වීමය. ධනපති සමාජය තුළ "සමාජ සාමයක්" ඔහු දෙශනා කළේය. ධනපති ක්‍රමයේ සමාජමය ප්‍රතිවිරුද්ධතා පංති සටන් නැතිව විසඳිය හැකියැයි කියාසිටි හෙතෙම, ප්‍රතිසංස්කරනවාදී වෘත්තීය සමිති හා කම්කරු පාලක නීතිරීති මගින් කම්කරුවන්ගේ දුඃඛිත තත්ත්වයට පිළියම් යොද කම්කරු හා ධනපති පංති අතර සාමයක් ඇතිකළ හැකියැයි පෙන්වා දුන්නේය. මාක්ස්වාදී වාක්‍ය පාඨවලට මුවාවෙමින් ධනපති පංතියේ උවමනාවලට කම්කරු පංති ව්‍යාපාරය යටකර දැමීම සඳහා බ්‍රෙන්ටානෝ සහ ඔහුගේ ගෝලයෝ උත්සාහදැරූහ.

14. "නාෂ සර්යා[1]" 1910 සිට 1914 දක්වා පීටර්ස්බුර්ග්හි මෙන්ෂෙවික්වාදී ලික්විඩේටර්වරුන් (අංක 22 දරණ සටහන බලන්න.) විසින් පළකරනලද නීත්‍යානුකූල මාසික සඟරාවය. "නාෂ සර්යා" වටා රුසියාවේ ලික්විඩේටර්වරු එක්රැස්වූහ.

15. සමස්ත ස්ලාව්වාදය — සාර් රුසියාවේ නායකත්වය යටතේ ස්ලාව්ජාතික රටවල් එක්සත් කිරීම සඳහා පැනනැගි ප්‍රතිගාමී දෙශපාලන බලවේගයකි. තුර්කි සහ ඔස්ට්‍රෝ–හංගෙරියානු පෑගීමට එදිරිව ස්ලාව් ජාතිකයින් කළ සටන් ඒ සඳහා යොදවා ගැනීමට මේ ව්‍යාපාරය මාන බැලීය.

16. "කළු සියය" — විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව සටන් කිරීම සඳහා සාර්ගේ පොලීසිය විසින් සාදනලද රාජාණ්ඩුවාදී මැරවර කණ්ඩායමකි. විප්ලවවාදීන් මරාදැමීම, ප්‍රගතිශීලි බුද්ධිමතුන්ට පහරදීම, යුදෙව්වන්ට වධදීම ආදිය කළෝය.

17. තෘදවික්වරු — ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ සිටි සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමකි. නාරෝද්නික්වාදී හැඟීම් ඇති ගොවීන්ගෙන් හා බුද්ධිමතුන්ගෙන් සැදුම් ලද්දකි. පළමුවැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවට තෝරාපත්වූ ගොවි මන්ත්‍රීවරුන් එක්සත්වීමෙන් 1906 අප්රේල් මාසයේදී මේ කණ්ඩායම සෑදින.

ඩූමාහි තෘදවික්වරු කඩේට්වරුන් හා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර වැනෙමින් සිටියාහ. අධිරාජ්‍යවාදී යුද්ධ සමයේදී තෘදවික්වරු සමාජ–අන්තජාතිවාදය වැළඳගත්හ.

18. ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාව. 1905 විප්ලවවාදී සිදුවීම්වලින් පසුව සාර් ආණ්ඩුවට පිහිටුවීමට සිදුවූ මන්ත්‍රණ සභාවකි. නමින් ව්‍යවස්ථා පණවන මණ්ඩලයක්වූවද එය සතු කිසිදු බලයක් නොවීය.

ඩූමාවට මන්ත්‍රීන් පත්කළේ කෙළින්ම හෝ සමානව හෝ

සර්ජන හෝ චන්ද විමසීමකින් නොවේ. වැඩකරන පංතීන්ගේ හා සුළු ජාතීන්ගේ චන්දබලය ඉතාම සීමාකරනු ලැබූ අතර කම්කරු හා ගොවිජනතාවගෙන් සැහෙන කොටසකට චන්දබලය නොතිබිණ. 1905 දෙසැම්බර් 11 (24) ද චන්ද නීතිය අනුව එක් ඉඩම් හිමියෙකුගේ චන්දය නාගරික ධනපතීන් තුන්දෙනෙකුගේද, ගොවීන් 15 දෙනෙකුගේ හා කම්කරුවන් 45 දෙනෙකුගේ චන්දවලට සමානවිය.

පළමුවැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාව (අප්රේල්-ජූලි, 1906) සහ දෙවැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාව (පෙබරවාරි–ජූනි, 1907) සාර්ගේ ආණ්ඩුව විසින් විසුරුවා හරිනලදී. 1907 ජූනි 3 ද රාජ්‍ය කුමන්ත්‍රණයක් ඇතිකළ ආණ්ඩුව අළුත් චන්ද නීතියක් පැනවීය. මේ නීතිය අනුව කම්කරුවන්ගේ, ගොවීන්ගේ හා නගරවල සුළු ධනපතියන්ගේ චන්දබලය තවත් අඩුවී ගියේය. මේ අනුව ඉඩම් හිමියන්ගේ හා විශාල ධනපතීන්ගේ කළු සියයේ සංවිධානයට තෙවැනි ඩූමාවේ (1907—1912) හා හතරවැනි ඩූමාවේ (1912—1917) සම්පූර්ණ බලය අයත්විය.

19. අන්තර්ජාතික සමාජවාදී බියුරෝව — දෙවැනි ජාත්‍යන්තරයේ 1900 පැරිසියේ සම්මේලනයේ තීරණය අනුව සාදනලද කාර්‍යාධිකාරී මණ්ඩලයය. රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ නියෝජිතයාලෙස 1905 සිට ලෙනින් මේ බියුරෝවේ පෙනීසිටියේය.

20. ත්‍රෛපාක්ෂික ගිවිසුමට අයත්, රටවල සමාජවාදීන්ගේ ලන්ඩන් සාකච්ඡාව 1915 පෙබ්‍රවාරි 14 ද පවත්වන ලදී. එංගලන්තයේ, ප්‍රංශයේ හා බෙල්ජියමේ සමාජවාදී පක්ෂවල ශාන්තිවාදීන් සහ සමාජ-අන්තජාතිවාදීන්ද, රුසියාවේ මෙන්ෂෙවික්වරු සහ සමාජ විප්ලවවාදී(එස්ආර්වරු)න්ද මෙයට සහභාගිවූහ.

බොල්ෂෙවික්වරුන්ට ආරාධනා නොකළද ලෙනින්ගේ නියමය පරිදි ලිට්වීනව් (මක්සිමෝවිච්) එහි ගියේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ප්‍රකාශනය කියැවීමටය. ලෙනින්ගේ කෙටුම්පත් යෝජනාවක් අනුව ඒ ප්‍රකාශනය පිළියෙල කරනලදී. සමාජවාදීන් ධනපති ආණ්ඩුවලින් ඉවත්විය යුතුයැයිද, ධනපති ආණ්ඩුවලට සහයෝගීතාවය නොදක්විය යුතුයැයිද, ස්වකීය අධිරාජ්‍ය ආණ්ඩුවලට එදිරිව සටන්කළ යුතුයැයිද, යුද්ධ ණයමුදල් පණත හෙළාදැකිය යුතුයැයිද එම ප්‍රකාශනය ඉල්ලා සිටියේය. ලිට්වීනව් එම ප්‍රකාශනය කියවනවිට ඔහුට බාධාකොට කතාකිරීමට අවසර නොදෙනලදී. ප්‍රකාශනයෙන් පිටපතක් සභාපති මඩුල්ලට භාරදුන් ලිට්වීනව් සභා ගැබින් පිටවිය.

21. ''නොවොස්ති'' (පුවත්) — සමාජ විප්ලවවාදී එස්ආර්වරුන්ගේ දිනපතා පුවත්පතය. 1914 අගෝස්තු මාසයේ සිට 1915 මැයි දක්වා පැරිස්හි මුද්‍රණය කරන ලදී.

22. ලික්විඩේටර්වාදය. (ලික්විඩේටර්වාදය යන රුසියානු වචනයේ තේරුම ''දියකරහැරීම'', ''විනාශකිරීම'', සහ ''විසුරුවා හැරීම'' යනුය.) 1905—1907 රුසියානු විප්ලවයේ පරාජයෙන් පසු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී මෙන්ෂෙවික්වාදීන් අතර පැතිරගිය අවස්ථාවාදී මතය ලික්විඩේටර්වාදය නමින් හැඳින් වේ. කම්කරු පංතියේ අයිතිවාසිකම් රකින විප්ලවවාදී පක්ෂය විසුරුවා හැරිය යුතුයැයි කියා සිටියහ. විප්ලවවාදී සටන් නැවැත්විය යුතුයැයි ඉල්ලා සිටි ඔව්හු කම්කරු පංතියේ දේශපාලන පක්ෂය වෙනුවට සාර් රජුගේ අනුබලය හා අනුමැතිය ඇති ප්‍රතිපත්ති සහිත නීති සහගත අවස්ථාවාදී දේශපාලන සංවිධානයක් සාදන ලෙස කියා සිටියහ. ලික්විඩේටර්වරුන්ගේ ප්‍රතිපත්තියට කම්කරු පංතිය පක්ෂපාත නොවූහ. 1912 ජනවාරි මාසයේදී පවත්වනලද රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ප්‍රාග් සම්මේලනයේදී ලික්විඩේටර්වරුන් පක්ෂයෙන් නෙරපා හරිනලදී.

23. ''ප්‍රොලිතාර්ස්කි ගෝලස්'' (නිර්ධන පංති හඬ) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ (රු. ස. ප්‍ර. ක. ප.) පිටර්බුර්ග් කමිටුවේ නීතිවිරෝධි කරනලද පුවත්පතය. 1915 පෙබරවාරි මාසයේ සිට 1916 දෙසැම්බර් මාසය දක්වා එහි කලාප හතරක් පළවිය. පත්‍රයේ පළමුවැනි කළාපයේ රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ''යුද්ධය හා රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය'' නම්වූ ප්‍රකාශනය පලවිය.

24. ''සොට්සියාල්–ඩිමොක්‍රාට්'' රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ නීතිවිරෝධි පුවත්පතය. 1908 පෙබරවාරි සිට 1917 ජනවාරි දක්වා කලාප 58 ක් මුද්‍රණය කරනලදී. පළමුවැනි කලාපය රුසියාවේදීද අනිකුත් කලාප විදේශවලදීද, එනම්, පැරිස් හා ජිනිවා

නගරවලද පළකරන ලදී. 1911 දෙසැම්බර් මාසයේ සිට පුවත්පතෙහි කතෘ ධුරය දරණ ලද්දේ වී. අයි. ලෙනින් විසිනි. එම පතෙහි පළවූ ලෙනින්ගේ ලිපි හා සටහන්වල සංඛ්‍යාව 80 කි.

25. හතරවැනි ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවට අයත් මන්ත්‍රීවරුන්ට (බදයෙව්, මුරානොව්, පෙත්‍රොව්ස්කි, ෂාගොව්, සමෝයිලොව්) සහ ඔසොයොර්කාහි රහසේ පවත්වනලද සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සාකච්ඡාවට සහභාගිවූ අනිකුත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට විරුද්ධව පවරනු ලැබූ නඩුවිභාගය 1915 පෙබරවාරි 10 (23) ද අසනලදී. බොල්ෂෙවික් මන්ත්‍රීවරුන්ට එදිරිව තුබූ ප්‍රධාන කරුණු සහිත සාක්ෂි ඔවුන් පරික්ෂාකිරීමේදී රාජ සන්ත කකරනලදී, ලෙනින් ලියූ ''යුරෝපීය යුද්ධයේදී විප්ලවවාදී සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කාර්ය භාරයන්'' නැමති ලිපිය සහ රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ ''සොචියාල් ඩිමොක්‍රාට්'' පුවත්පතෙහි පළකරනලද ''යුද්ධය හා රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදය'' නම්වූ ප්‍රකාශනයයි. බොල්ෂෙවික් මන්ත්‍රීවරුන් පස්දෙනා ජීවිතාන්තය දක්වා නැගෙනහිර සයිබීරියාවේ තුර්හාන්ස්කි පෙදෙසට පිටුවහල් කරන ලදී.

26. Sozialistische Monatshefte (''සමාජවාදී මාසික සඟරාව'') ජර්මන් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදීන්ගේ ප්‍රධාන ප්‍රචාරක යන්ත්‍රයය. මෙය, අන්තර්ජාතික සංශෝධනවාදයේ ප්‍රචාරක ආවුධයකි. 1914—1918 අධිරාජ්‍යවාදී ලෝක යුද්ධ සමයේදී සමාජ–අන්තජාතිවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1897 සිට 1933 දක්වා මේ සඟරාව බර්ලින්හිදී පළවිය.

27. 1915 අප්‍රේල් මස වියානාහිදී පවත්වනලද ජර්මන් හා ඕස්ත්‍රියානු සමාජවාදීන්ගේ සාකච්ඡාව ගැනය. ලන්ඩන්හි පවත්වනලද ත්‍රෛපාක්ෂික ගිවිසුමට අයත් රටවල සමාජවාදීන්ගේ සාකච්ඡාවට පිළිතුරු වශයෙනි, වියානා සාකච්ඡාව පවත්වන ලද්දේ. අධිරාජ්‍ය යුද්ධයේදී ''පිතෘභූමිය ආරක්ෂා කිරීම'' යන සමාජ–අන්තජාතිවාදී උද්යෝග පාඨය සම්මේලනය සම්මත කළාය.

28. 1914 සැප්තැම්බර් 27 ද ස්විට්සර්ලන්තයේ ලුගානොවලදී පවත්වනු ලැබූ ඉතාලියේ හා ස්විටසර්ලන්තයේ සමාජවාදීන්ගේ සාකච්ඡාව ගැනය. යුද්ධ කාලයේදී අන්තර්ජාතික සබඳකම් නැවත



ගොඩනගනුවස් සමාජවාදීන් විසින් ගන්නාලද පළමුවැනි ප්‍රයත්නය මෙයය.

29. 1915 ජනවාරි 17—18 ද කොපන්හේගන්හිදී පැවැත්වූ මධ්‍යස්ථ රටවල සමාජවාදීන්ගේ සාකච්ඡාව ගැනය. ස්වීඩනය, ඩෙන්මාර්කය, ඕලන්දය හා නෝර්වේ රටවල සමාජවාදී පක්ෂ මේ සාකච්ඡාවට සහභාගිවූහ. මධ්‍යස්ථ රටවල සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී මන්ත්‍රීවරුන් මැදිහත්වී යුදවැදී සිටින රටවල් අතර සාමයක් ඇතිකිරීම සඳහා තම ආණ්ඩු පොළඹවාගැනීම් වස් වහාම ක්‍රියාකළ යුතුයැයි ඉල්ලා සිටින යෝජනාවක් එහිදී සම්මත කරගන්නාලදී.

30. අන්තර්ජාතික සමාජවාදී කාන්තා සාකච්ඡාව 1915 මාර්තු 26—28 ද බර්න්හි පවත්වනලදී. යුද්ධය ගැන කාන්තා ප්‍රතිපත්තිය සලකා බැලීම සඳහාය මේ සාකච්ඡාව කැඳවන ලද්දේ. අන්තර්ජාතික කාන්තා ව්‍යාපාරයේ නායිකා ක්ලාරා සෙට්කින්ගේ සහභාගී ත්වයෙන් ගෙනයන ''වැඩකරන වනිතාව'' සඟරාවේ විදේශීය සංවිධානය මේ සාකච්ඡාව කැඳවිය. එංගලන්තය, ජර්මනිය, ප්‍රංශය, ඕලන්දය, ස්විට්සර්ලන්තය, ඉතාලිය, රුසියාව හා පෝලන්තය ආදී රටවලින් නියෝජිතයින් 25 දෙනෙක් මේ සාකච්ඡාවට සහභාගිවූහ.

31. අන්තර්ජාතික සමාජවාදී තරුණ සාකච්ඡාව–යුද්ධය කෙරෙහි තරුණයින් දක්වියයුතු ප්‍රතිපත්තිය ගැන සාකච්ඡාකිරීමට ස්විට්සර්ලන්තයේ බර්න්හිදී 1915 අප්‍රේල් 4—6 ද පවත්වනලදී. රුසියාව, නෝර්වේ, ඕලන්දය, ස්විට්සර්ලන්තය, බල්ගේරියාව, ජර්මනිය, පෝලන්තය, ඉතාලිය, ඩෙන්මාර්කය හා ස්වීඩනය යන රටවල් දහයේ තරුණ සංවිධාන මේ සාකච්ඡාවට සහභාගිවූහ. අවුරුදු පතා අන්තර්ජාතික තරුණ දිනයක් පැවැත්වීමට මෙහිදී තීරණයවිය. සාකච්ඡාවේ තීරණය පරිදි තෝරා පත් කර ගනු ලැබූ අන්තර්ජාතික තරුණ සමාජවාදී බියුරෝව ''Jugend Internationale'' නමින් සඟරාවක්ද පළකළේය.

32. Lichtstrahlen (ආලෝකධාරා) — ජර්මනියේ වාමපාක්ෂික සමාජ–ප්‍රජාතන්ත්‍ර වාදීන්ගේ (ජර්මනියේ අන්තර්ජාතික සමාජ

වාදීන්ගේ) මාසික සඟරාවය. සංස්කාරක යූ. බොර්හාර්ඩ්ටය. 1913 සිට 1921 දක්වා ඉඳහිට ජර්මනියේ පළකරනලදී.

33. "Die Internationale" (අන්තර්ජාතිකය) — ලුක්සම්බර්ග් හා මේරින්ග් ඇරඹූ සඟරාවය. ප්‍රථම හා එකම කලාපය පළවූයේ 1915 අප්රේල්හිදීය. 1918 දී ජර්මනියේ ඇතිවූ නොවැම්බර් විප්ලවයෙන් පසු නැවත පළවිය.

34. නිල මණ්ඩල—ජර්මන් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම කාරක සභාව, පාර්ලිමේන්තු කණ්ඩායම ආදිය.

35. නිදහස් ලේබර් පක්ෂය (Independent Labour Party) යළි ස්ට්‍රයික් පැන නැගී සහ ධනපති දේශපාලන පක්ෂවලින් නිදහස්වීම සහ එංගලන්තයේ කම්කරු ව්‍යාපාරයේ ස්වාධීනත්වය සඳහා නැගී එන සටනක් පැවැති, 1893 දී ඇතිවූ ප්‍රතිසංස්කරණවාදී දේශපාලන පක්ෂයකි. කියර් හාඩි එහි නායකයා විය.

නිදහස් ලේබර් පක්ෂය ආරම්භයේ සිටම ධනපති ප්‍රතිසංස්කරණවාදී පිළිවෙතක් ගත් අතර පාර්ලිමේන්තු සටන් ක්‍රමයන්ට හා ලිබරල් පක්ෂය සමග පාර්ලිමේන්තු ගිවිසුම් ඇතිකර ගැනීමට වැඩි උනන්දුවක් දැක්වීය මේ පක්ෂයේ ස්වරූපය හඳුන්වාදෙමින් ලෙනින් මෙසේ ලිවේය. "එය ඇත්තෙන්ම හැම විටම ධනපති පංතියෙන් යැපුණු අවස්ථාවාදී පක්ෂයක් විය" (වි. අයි. ලෙනින්ගේ කෘතීන් 5 වැනි මුද්‍රණය. 39 වෙළුම. 90 පිටුව). යුද්ධය පටන්ගත් අවධියේදී එම පක්ෂය අධිරාජ්‍යවාදී යුද්ධය හෙළාදකිමින් ප්‍රකාශනයක් නිකුත්කළද, ඉක්මණින්ම සමාජ–අන්තජාතිවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

36. "තෙස්න්යාක්වරු"—බල්ගේරියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය තුළ 1903 දී පැනනැගී විප්ලවවාදී ප්‍රවණතාවයකි. පසුව එය නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීකම්කරු පක්ෂයක්ලෙස දියුණුවිය."තෙස්න්යාක්" වරුන්ගේ නායකයා හා ආරම්භකයාවූයේ ඩී.බ්ලාගොයෙව්ය.ඔහුගෙන් පසු ජෝජි දිමිත්‍රොව් සහ විසිලි කොලාරව් එහි නායකයින් බවට පත්වූහ. 1914—1918 කාලයේදී "තෙස්න්යාක්වරු" අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධවූහ. 1919 කොමියුනිස්ට් ජාත්‍යන්තරයට බැඳුණු එම පක්ෂය පසුව බල්ගේරියානු කොමියුනිස්ට් පක්ෂය වශයෙන්ද, ඊට කලකට පසු බල්ගෙරියානු කම්කරු පක්ෂය (කොමියුනිස්ට) වශයෙන්ද සංවිධානවිය.

37. සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී සම්මේලනය සහ අනිකුත් සමාජවාදී කොටස් සමගිවීම නිසා 1911දී මැන්චෙස්ටර්හිදී බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂය (බ්‍රි. ස. ප.) පිහිටුවන ලදී. මේ පක්ෂය මාක්ස්වාදී ප්‍රචාරයන් හා උද්ඝෝෂණයන් ගෙන ගිය "අවස්ථාවාදීන්ගෙන් තොර ලිබරල්වාදීන්ගෙන් නියමලෙසම නිදහස්වූ" පක්ෂයකි. (වි. අයි. ලෙනින්ගේ කෘතීන් 5 වැනි මුද්‍රණය, 23 වෙළුම, 344 පිටුව) බහුජන පක්ෂයක් නොවීම නිසා එය තරමක සීමාන්තිකවාදයකින් පෙළුණි.

1914—1918 අධිරාජ්‍යවාදී ලෝක යුද්ධ සමයේදී අන්තර්ජාතිකවාදීන් (ගැලකර්, ඉන්ක්පින්, මැක්ලීන්, රොත්ස්ටෙයින් ආදීහු) හා හයින්ඩ්මන්ගේ නායකත්වයෙන් යුත් සමාජ–අන්තජාතිවාදීන් අතර දැඩි අරගලයක් ඇතිවිය. අන්තර්ජාතිකවාදීන් අතර ඇතැම් කොටස් යම් ප්‍රශ්නයන්හිදී මධ්‍යවාදී ප්‍රතිපත්ති අනුගමනය කළහ. 1916 පෙබරවාරි හිදී බ්‍රි. ස. ප–යේ කොටසක් විසින් "The Call" පුවත්පත පටන්ගන්නා ලදී. ජාත්‍යන්තරවාදීන් ඒකරාශී කිරීම සඳහා මේ පුවත්පත සේවය කළේය. 1916 අප්රේල්හිදී සොල්පෝඩ්හි පවත්වනලද පක්ෂයේ සාකච්ඡාවේදී හයින්ඩ්මන්ගේ සමාජ–අන්තජාතිවාදී කොටස විවේචනයට භාජනකරන ලදින්, ඔව්හු පිටව ගියාහ.

බ්‍රි. ස. ප–ය ඔක්තෝබර් සෝෂලිස්ට් විප්ලවයට සුබ පැතුවේය. සෝවියට් රුසියාව විදේශීය ආක්‍රමණයෙන් බේරාගැනීම පිණිස ඉංග්‍රීසි වැඩකරන ජනතාව පටන්ගත් මහා ව්‍යාපාරයේ ක්‍රියාශීලි වැඩ කොටසක් බ්‍රි. ස. ප--යේ සාමාජිකයින් විසින් ඉටුකරනලදී. 1919දී පක්ෂයේ ශාඛාවලින් ඉතා වැඩිකොටස (98 පක්ෂව හා 4 ක් විරුද්ධව) කොමියුනිස්ට් අන්තර්ජාතිකයට බැඳීමට පක්ෂපාත විය.

බ්‍රි. ස. ප–යේ හා කොමියුනිස්ට් සමගි කණ්ඩායම මහා බ්‍රිතාන්‍ය කොමියුනිස්ට් පක්ෂය ගොඩනැගීම සඳහා ප්‍රධාන වැඩකොටස ඉටුකළේය. 1920දී පවත්වනලද පළමුවැනි සමගි සම්මේලනයේදී බ්‍රි. ස. ප–යේ ශාඛා වැඩි සංඛ්‍යාවක් අළුත පිහිටුවනලද මහා බ්‍රිතාන්‍ය කොමියුනිස්ට් පක්ෂයට බැඳුණාහ.

38. "L'Humanité" (මිනිස් පරපුර) 1904 දී ජාන් ජොරේස් විසින් අරඹනලද ප්‍රංශ සමාජවාදී පක්ෂයේ දිනපතා පුවත්පතය. 1914—18 අධිරාජ්‍යවාදී ලෝක යුද්ධ සමයේදී, සමාජ-අන්තජාතිවාදී දක්ෂිණාංශික සමාජවාදීන් අතට මේ පුවත්පත හසුවිය. 1920 දෙසැම්බර් මස තුර්හි පවත්වනලද සම්මේලනයෙන් පසුව ප්‍රංශ සමාජවාදී පක්ෂය බිඳීගොස් කොමියුනිස්ට් පක්ෂය බිහිවිය. පසුව එම පුවත්පත ප්‍රංශ කොමියුනිස්ට් පක්ෂයේ පුවත්පත බවට පත්විය. ප්‍රංශ කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම පුවත්පතලෙස අද දක්වා එය පළවේ.

39. ට්‍රිබියුනිස්ට්වරු — ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයෝය. ට්‍රිබියුන් ඔවුන්ගේ පුවත්පතවිය. ට්‍රිබියුනිස්ට්වරු ස්ථිර වාමාංශිකයෝ නුවූවද, ඕලන්ද කම්කරු ව්‍යාපාරයේ වම නියෝජනය කළහ. මොව්හු (1914—1918) අධිරාජ්‍යවාදී යුද්ධ කාලයේදී පොදු වශයෙන් අන්තර්ජාතික ප්‍රතිපත්තියක් අනුගමනය කළෝය. 1918දී ට්‍රිබියුනිස්ට්වරු ඕලන්ද කොමියුනිස්ට් පක්ෂය ආරම්භ කළහ.

40. Preußische Jahrbücher ("ප්‍රෘසියානු වාර්ෂික") සංග්‍රහය දේශපාලනය, ඉතිහාසය හා සාහිත්‍යය පිළිබඳ ලිපි පළකරන ජර්මන් කොන්සර්වේටිව් මාසික සඟරාවකි. 1858 සිට 1935 දක්වා බර්ලින්හිදී මුද්‍රණය කරනලදී.

41. දෙවැනි අන්තර්ජාතිකයේ අවස්ථාවාදීන් හැඳින්වූ සැටිය ඒ.

42. "සංවිධායක කමිටුව" — ලික්විඩේටර් වරුන්ගේ අගෝස්තු සාකච්ඡාවේදී, 1912දී සාදනලද මෙන්ෂෙවික් සංවිධාන මධ්‍යස්ථානයකි. අධිරාජ්‍යවාදී යුද්ධ සමයේදී සංවිධායක කමිටුව සමාජ-අන්තජාතිවාදී ලෙස ක්‍රියා කළේය. සාර් ආණ්ඩුව යුද්ධයට පටලැවීම සාධාරණයැයි කියාසිටි ඔව්හු ජාතිවාදය හා අන්තජාතිවාදය පැතිරවූහ. 1917 අගෝස්තු මාසයේදී මෙන්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාව තෝරාපත් කරන තෙක් සංවිධායක කමිටුව පැවැත්තේය.

43. "කම්කරු විමුක්ති කණ්ඩායම" — 1883 දී ජිනීවා නුවර ජී. වී. ප්ලෙඛානොව්ගේ නායකත්වයෙන් පිහිටුවනලද පළමුවැනි



රුසියානු මාක්ස්වාදී කණ්ඩායමය. රුසියාවේ මාක්ස්වාදය පැතිරවීම සඳහා මේ කණ්ඩායම විශාල සේවයක් කළේය.

44. ඉස්ක්‍රා — (ගිනි පුපුර) 1900 දී ලෙනින්ගේ නායකත්වයෙන් ඇරඹූ නීතිවිරෝධි ලෙස පළකළ සමස්ත රුසියානු මාක්ස්වාදී දේශපාලන් පුවත්පතය. රු. ස. ප්‍ර. ක. ප–යේ (1903) දෙවැනි සම්මේලනයෙන් පසු "ඉස්ක්‍රා" පක්ෂයේ මධ්‍යම පුවත්පත බවට පත්විය. පළමුවැනි කලාපයේ සිට 51 වැනි කලාපය පැරණි "ඉස්ක්‍රා"ව හැටියට ලෙනින් හඳුන්වයි. 52 වැනි කලාපයේ සිට ඉස්ක්‍රාව මෙන්ෂෙවික් කණ්ඩායමේ පුවත්පත බවට පත්විය.

45. 1912 ජනවාරි 5—17 (18—30) ප්‍රාග්හිදී පවත්වනලද සමස්ත රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ හයවැනි (ප්‍රාග්) සාකච්ඡාව ගැනය. මෙය සාකච්ඡාවක් වුවද සම්මේලනයක වැදගත් කමින් යුක්තය.

46. "ප්‍රව්ඩා"— 1912 අප්‍රේල්හිදී පීටර්බුර්ග්හි කම්කරුවන්ගේ උනන්දුව නිසා පටන්ගත් බොල්ෂෙවික් නීතිසහගත දිනපතා පුවත්පතය.

"ප්‍රව්ඩා" පොදුජන පුවත්පතක් විය. එය නඩත්තු කළේ කම්කරුවන්ගේ ආධාර මුදල් වලිනි. පත්‍රය වටා කම්කරු වාර්තාකරුවන්, කම්කරු ගත්කරුවන් විශාල පිරිසක් බිහිවූහ. අවුරුද්දක් තුළදී පත්‍රයේ පළ කරන ලද ලිපි හා වාර්තාවල ගණන 11,000 ත් වැඩිය. දිනපතා අලෙවිවුණු කොපි ගණන 40,000 කි. සමහර දවස්වලදී පිටපත් 60,000 ක් දක්වා අලෙවිවිය.

විදෙස් ගතවැ සිටි ලෙනින් "ප්‍රව්ඩා"වට දිනපතාම පාහේ ලිපි ලිවීය. පත්‍රය මෙහෙයැවීය. සංස්කාරක මණ්ඩලයට උපදෙස් දුන්නේය. පක්ෂයේ ඉතාම හොඳ සාහිත්‍යකාරයින් පත්‍රය වටා ඒකරාශී කළේය.

"ප්‍රව්ඩා" පොලිස් මර්දනයට නිතර භාජනවිය. අව්රුදු දෙකකුත් මාස තුනක කාලයක් තුළදී සාර් ආණ්ඩුව විසින් "ප්‍රව්ඩා" අටවරක්ම තහනම් කරනලදී. එහෙත් ඒ හැම වාරයකදීමපත්‍රය වෙනත් නම්වලින් පළවිය. 1914 ජූලි 8 (21) ද ලෝක යුද්ධය ආසන්නයේදී පුවත්පත තහනම් කරනලදී.

1917 පෙබරවාරි විප්ලවය ජයගැනීමෙන් පසු "ප්‍රව්ඩා" පුවත්පත රු. ස. ප්‍ර. ක. ප–යේ මධ්‍යම පුවත්පත ලෙස 1917 මාර්තු 5 ද (18) නැවත පළවිය. 1917 ජූලි — ඔක්තෝබර් වලදී පුවත්පත ප්‍රතිවිප්ලවවාදී

ධනපති තාවකාලික ආණ්ඩුව විසින් මර්දනය කිරීමට පටන් ගත්තෙන් ''ලිස්තොක් ප්‍රාව්දි'', ''ප්‍රොලිතාරි'' (නිර්ධන පංතිය), ''රබෝචි'' (කම්කරුවා), ''රබෝචි පූට්'' (කම්කරු මාවත) ආදී නම්වලින් පළ විය. ධනපති තාවකාලික ආණ්ඩුව විසින් මර්දනය කිරීමට පටන් ගත්තෙන් 1917 ඔකතෝබර් 27 (නොවැ:9) ද සිට එනම් ශ්‍රේෂ්ඨ ඔක්තෝබර් සෝෂලිස්ට් විප්ලවයෙන් පසුව නැවත ''ප්‍රව්ඩා'' නමින් පළවිය.

47. ''ලුච්'' (අලෝකධාරා) මෙන්ෂෙවික්–ලික්විඩේටර්වරුන්ගේ දිනපතා පත්‍රයය. 1912 සැප්තැම්බර් සිට 1913 ජූලි මස දක්වා පිටර්බුර්ග්හි පළවූ මේ පුවත්පත,''පොහොසත් ධනපති මිතුරන්ගේ මුදල් නිසා නඩත්තුවිය.'' (ලෙනින්).

48. ''මාක්ස්වාදය හා ලික්විඩේටර්වාදය. වත්මන් කම්කරු පංති ව්‍යාපාරයේ මූලික ප්‍රශ්න පිළිබඳ ලිපි සංග්‍රහයක් 2 කොටස.''මේ කෘතිය 1914 ජූලි මාසයේදී ''ප්‍රිබොයි'' (රළ වේගය) ප්‍රකාශකයින් විසින් නිකුත් කරනලදී. ලික්විඩේටර් වරුන්ට එදිරිව ලිපි පෙලක් මේ පොතට ලියනලද්දේ ලෙනින් විසිනි. ලෙනින් මෙහිදී මතක් කරන්නේ, ''කම්කරු පංතිය සහ ෘ ම්කරු පුවත්පත්'' සහ ''ඩූමා රාජ්‍ය මන්ත්‍රණ සභාවේ රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ මන්ත්‍රී කණ්ඩායම සංවිධාන කිරීම ගැන කම්කරුවන් දක්වූ පිළිවෙත ආදි ලිපි ගැනය''.

40. ''Leipziger Volkszeitung'' (''ලයිප්ස්ග් මහජන පුවත්පත'') ජර්මන් වාමාංශික සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ දිනපතා පුවත්පතය. 1894 සිට 1933 දක්වා පළවිය. අවුරුදු කීපයක් තිස්සේ එෆ්. මෙරින්ග් සහ රෝසා ලුක්සම්බර්ග් කතු වරයින් වශයෙන් ක්‍රියාකළහ. 1917—1922 කාලවලදී මෙය ''නිදහස් මතධාරීන්ගේ'' පුවත්පත බවටද, 1922 පසු දක්ෂිණාංශ සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී පුවත්පත බවටද පත්විය.

50. අගෝස්තු හවුල — බොල්ෂෙවික්වරුන්ට එදිරිව ට්‍රොට්ස්කිවාදීන්, ලික්විඩේටර්වරුන් සහ අනිකුත් අවස්ථාවාදීන් විසින් සාදනලද පෙරමුණකි. මෙහි සංවිධායකයාවූයේ ට්‍රොට්ස්කිය. 1912



අගෝස්තුවලදී වියානා නුවර පවත්වනලද සාකච්ඡාවේදී පක්ෂ විරෝධී කාණ්ඩ හා මතධාරීන්ගෙන් සැදුණු හවුලකි. බුන්ඩ් සංවිධානයේ, කොකේසියානු ප්‍රාදේශීය කමිටුවේ ලැට්වියානු පෙදෙස්වල සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ හා විදෙශ ගතවැ සිටි ලික්විඩේටර්වාදී ට්‍රොට්ස්කිවාදී හා ඔට්සෝව්වාදී සුළු කණ්ඩායම්වල නියෝජිතයින්ද ප්‍රාදේශීය පක්ෂ කටයුතුවලට සම්බන්ධ වී නොසිටි රුසියානු ලික්විඩේටර්වරුන්ගේ නියෝජිතයින්ද මෙයට සහභාගිවූහ. සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී උපක්‍රමයන් පිළිබඳ සෑම ප්‍රශ්නයකදීම පක්ෂ විරෝධී ලික්විඩේටර්වාදී තීරණයන් ගත් මේ සාකච්ඡාව නීතිවිරෝධී පක්ෂයක් තිබීම හෙළාදුටුවේය. මේ සාකච්ඡාවේ ප්‍රධාන අරමුණ වූයේ විවිධ කොටස්වලින් සමන් විත වීම නිසා බොල්ෂෙවික් විරෝධී හවුල සමගි කිරීමය. සාකච්ඡාව අවසානවීමට පෙරම විසිරෙන්නට පටන් ගත් අතර බොල්ෂෙවික් ප්‍රහාරය නිසා අවුරුද්දකදී පමණ අවසාන ලෙස විනාශයට පත්විය.

51. බ්‍රසල්ස් හවුල (ජූලි තුන්වැනිද හවුල) රු.ස. ප්‍ර. ක. ප–යේ. සමගිය ගොඩනැගීමේ හැකියාව ගැන සාකච්ඡා කරනුවස් අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ කෘත්‍යාධිකාරී කමිටුව විසින් 1914 ජූලි 16—18ද බ්‍රසල්ස්හිදී කැඳවනලද ''සමගි'' සාකච්ඡාවේදී ඇතිකරගත් සංවිධානයකි. රු. ස. ප්‍ර. ක. ප–යේ මධ්‍යම කාරක සභාවේ (බොල්ෂෙවික්)නියෝජිතයින්ද, සංවිධායක කමිටුවේ (මෙන්ෂෙවික්) නියෝජිතයින්ද, ඔවුනට සම්බන්ධිත සංවිධානයන්වන කොකේසියාවේ ප්‍රාදේශීය කමිටුව හා (ට්‍රොට්ස්කිවාදී) ''සටන'' කණ්ඩායමද, ස. ප්‍ර. ප–යේ ඩූමා සභාවේ (මෙන්ෂෙවික්) කණ්ඩායමද, ප්ලෙඛානොව්ගේ සමගි කණ්ඩායමද, ''ඉදිරිය'' හා බුන්ඩ් කණ්ඩායම්ද, ලැට්වියාවේ, ලිතුවේනියාවේ හා පෝලන්තයේ සමාජ–ප්‍රජාතන්ත්‍රව්වාදී කණ්ඩායම්ද, පෝලන්තයේ සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී විරුඩ පක්ෂය සහ පී. පී. එස්. වාමාංශික කණ්ඩායමද මේ සාකච්ඡාවට සහභාගිවූහ.

සාකච්ඡාව කැඳවනලද්දේ අදහස් හුවමාරු කරගැනීමට මිස තීරණයන් ගැනීම සඳහා නොවූවද, රුසියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය සමගිකිරීමේ යෝජනාවක් කෞට්ස්කි විසින් ඉදිරිපත් කරනලදී. බොල්ෂෙවික්වරු සහ ලැට්වියානු සමාජ–ප්‍රජාතන්ත්‍රවාදීහු ඡන්දය දීමෙන් වැලකී සිටියද යෝජනාව වැඩි

ඡන්දයෙන් සම්මත විය. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් බොල්ෂෙවික්වරු බ්‍රසල්ස් සාකච්ඡාවේ තීරණයන් පිළිගැනීම ප්‍රතික්ෂේප කළහ.

බ්‍රසල්ස් හවුල එයට සහභාගිවූවන්ගේ අවස්ථාවාදය වසංකිරීමට දැරූ වංචාසහගත උත්සාහයකි. වැඩිකල් නොගොස් එය බිඳිවැටින.

52. ආන් — කොකේසියාවේ මෙන්ෂෙවික් නායකයෙකුවූ එන්. එන්. ජොර්දනියාය.

53. ''බුන්ඩ්'' (ලිතුවේනියාවේ, පෝලන්තයේ හා රුසියාවේ යුදෙව් කම්කරුවන්ගේ පොදු සංගමය). 1897 විල්නෝහිදී පවත්වනලද යුදෙව් සමාජ–ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම්වල සම්මේලනයේදී ''බුන්ඩ්'' සංගමය පිහිටුවා ගන්නාලදී. එය ප්‍රධාන වශයෙන්ම බටහිර රුසියාවේ අර්ධ නිර්ධන යුදෙව්ජාතික හස්ත කර්මාන්තකාරයින්ගේ සංවිධානයක් විය. පළමුවැනි ලෝක මහා යුද්ධයේදී බුන්ඩ් සාමාජිකයෝ සමාජ–අන්තජාතිවාදය වැළඳගත්හ. 1917දී ධනපති තාවකාලික ආණ්ඩුවට පක්ෂවූ ''බුන්ඩ්'', පසුව ඔක්තෝබර් සෝෂලිස්ට් විප්ලවයේ හතුරන්ගේ පැත්ත ගෙන සටන් කළහ. විදේශීය යුද්ධ ආක්‍රමණය සහ සිවිල් යුද්ධයේදී ''බුන්ඩ්'' නායකයෝ ප්‍රතිවිප්ලවවාදීන් සමග එකතු වූහ. ඒ සමගම ''බුන්ඩ්''හි සාමාන්‍ය සාමාජිකයෝ සෝවියට් පාලනය සමග සහයෝගීව කටයුතු කිරීමට ඉදිරිපත්වූහ. 1921 මාර්තු මාසයේදී ''බුන්ඩ්'' සාමාජිකයෝ එය විසුරුවා හැරීමට තීරණය කළහ.

54. ''ගෝලොස්'' (හඬ) 1914 සැප්තැම්බර් සිට 1915 ජනවාරි දක්වා පැරීසියේ පළ කරනු ලැබූ මෙන්ෂෙවික්වාදී දිනපතා පුවත්පතය. එය මධ්‍යවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

අධිරාජ්‍ය වාදී යුද්ධාරම්භයේදී (1914—1918) සමාජ–අන්තජාතිවාදයට එදිරිව මාටොව් එම පත්‍රයේ ලිපි පළ කළේය. මාටොව් දකුණට හැරීමෙන් පසු පුවත්පත සමාජ–අන්තජාතිවාදීන් ආරක්ෂා කිරීමට ඉදිරිපත්විය. ''සමාජ–අන්තජාතිවාදය පිළි නොගන්නා උදවිය සමග කිට්ටු සබඳකම් ඇතිකරගන්නවා වෙනුවට එය සමාජ–අන්තජාතිවාදය සමග සමගිවීමට කැමතිවිය.'' (ලෙනින්)

1915 ජනවාරි මාසයේ සිට ගෝලස් වෙනුවට ''නාෂෙ ස්ලෝවො'' (අපේ අදහස) පුවත්පත පළවිය.

55. ''Internationale Korrespondenz'' — සමාජ–අන්තජාතිවාදී ජර්මන් මාසික සඟරාවය. 1914—1918 අවුරුදුවලදී බර්ලිනයේ පළවිය.

56. ''සව්රිමේන්නි මීර්'' — සාහිත්‍ය, විද්‍යා හා දේශපාලන ලිපි පළකරන මාසික සඟරාවකි. 1906 සිට 1918 දක්වා පීටර්බුර්ග්හි පළකරනලද මේ සඟරාවට ලිපි සැපයූ අය අතර ප්ලෙඛානොව්ද ඇතුළු මෙන්ෂෙවික්වරුද වූහ. පක්ෂයට ලැදි ප්ලෙඛානොව්ගේ කණ්ඩායම සමග සහයෝගයෙන් කටයුතු කළ සමයේදී හා 1914 මුල්කාලයේදී බොල්ෂෙවික්වරු සඟරාවට සහයෝගය දුන්හ.

අධිරාජ්‍යවාදී ලෝක යුද්ධ කාලයේදී (1914—18) මෙම සඟරාව අන්තජාතිවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

ප්‍රගති ප්‍රකාශක මන්දිරය පහත සටහන් පොත් මුද්‍රණය කරනු ඇත:

වී. අයි. ලෙනින් විසින් ලියන ලද රජය හා විප්ලවය

වී. අයි. ලෙනින්ගේ ජීවන තතු හෙළි කරන ආලෝකය

වී. අයි. ලෙනින් ගැන කතා සහ ලිපි ඇතුළත් කෘතියක් වන ලෙනින් සහ අපේ ජීවිත

## පාඨකයින් වෙතටයි.

මෙම පොතේ අනුවාදය, මුද්‍රණය හා සකස් කිරීම පිළිබඳව ඔබගේ අදහස්ද, ඔබගේ කිසියම් යෝජනාවක් වේතොත් එයද, දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාවය ඔබට හිමිවේ.

අපේ ලිපිනය.

Progress Publishers, 21
Zubovsky Boulevard, Moscow, USSR.

# LIBERATIONBASE
# ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013


සූචිකරණ දත්ත

කෘතිය: සමාජවාදය හා යුද්ධය
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/-
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2012-01-20
ඩිජිටල් සංස්කරණයන්: V1:2012-01-20, V2:2019-05-30
පිටු ගණන: 72
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com